අති පූජ්‍ය කොත්මලේ කුමාර කස්සප ස්වාමීන්වහන්සේ ගේ අනුමැතිය යටතේ නොමිලේ බෙදාහැරීම සඳහා නැවත මුද්‍රණය කළ හැක.

සියලු විමසීම්.

1. ආනන්ද හේවාවිතාරණ - 071 - 9851515
2. ප්‍රසන්න දිසානායක - 10061419754426
3. රොෂාන්ත දිසානායක - 100447886411020

**යථාර්ථය දැකීමෙන් දුක දුරු කිරීම**

ප්‍රථම මුද්‍රණය : 2019

මුද්‍රණය : **නැණිල පබ්ලිකේෂන් (ප්‍රයිවට්) ලිමිටඩ්**
නො. 227/30, නිර්මාණ මාවත,
නාවල පාර, නුගේගොඩ.
දුරකථන : 094-11-4809400 / 011-2820333
ෆැක්ස් : 094-11-2810633
ඊ මේල් : nanilapublication@gmail.com

# පෙරවදන

සත්ත්වයන්ට දුක ඇතිවන ආකාර දෙකකි. එනම් කායික සහ මානසික වශයෙනි. නොයෙක් ලෙඩ රෝග වැළඳීමත්, රූපයේ දුබලතා ඇති වීමත්, කැඩීම් බිඳීම් ආදිය රූපය දිරාපත් වීම තුළින්ද කායික දුක් ඇතිවේ. බලාපොරොත්තු සඵල නොවීම, අලාභ සිදු වීම ආදියෙන් මානසික දුක ඇතිවේ. එහෙත් ගැඹුරින් දුක ගැන සිතන විට ස්ථිර දුක වශයෙන් පවතින්නේ නාම-රූප ධර්මයන්ගේ වේගවත් ඉපිද ඉපිද බිඳී බිඳී යන නාම-රූප ධර්මයන්ගේ නිත්‍ය නොවන බවයි.

බුදුරජාණන් වහන්සේ දේශනා කල දුක තුන් ආකාර වේ.

1) දුක්ඛ දුක්ඛ - ජීවිතයේ මුහුණු පෑමට සිදුවන පොදු වූ සාමාන්‍ය දුක්ඛයන් (ප්‍රිය විප්‍රයෝප, අප්‍රිය සම්ප්‍රයෝග, කැමති දෑ නොලැබීම යනාදී සියලු දුක්ඛයන්ය.)
2) විපරිනාම දුක්ඛ - පඤ්චස්කන්ධය හෙවත් ධර්මයන්ගේ ස්ථිර පැවැත්මක් නොමැතිව ඉපිද පැවත, නැතිව යාමේ දුක්ඛය.

   (උප්පාද, ස්ථිති, භංග වශයෙන් වෙනස් වීම අනිත්‍ය බව විපරිනාම දුක්ඛය)
3) සංඛාර දුක්ඛ - හේතු ප්‍රත්‍යයෙන් හටගත් පඤ්චස්කන්ධය පවත්වා ගැනීම සඳහා අවශ්‍ය ප්‍රත්‍ය සැපයීමේ දුක්ඛය.

දිනක් මුගලන් තෙරහු සැරියුත් මහා තෙරුන් වෙත එළඹ සතුටු සාමීචි කතා වෙන් පසුවැ මෙසේ විමසුහ. ආයුෂ්මතුන් වහන්ස, මෙම සස්නෙහි මග - පල නුවණ ලබන ප්‍රතිපදා සතර වැදෑරුම් වේ.

1. ප්‍රතිපදාව දුක් සහිතයි. එසේම අභිඥාව

   (මග - පල සිත් පහළ වීම) සෙමින් ය.
2. ප්‍රතිපදාව දුක් සහිතයි. එහෙත් ඉතා ඉක්මන් ය.
3. ප්‍රතිපදාව සුවසේය. එහෙත් අභිඥාව සෙමින් ය.

4. ප්‍රතිපදාව ද සුවසේය. අභිඥාව ද ඉතා ඉක්මන් ය.

ආයුෂ්මතුනි, ඔබගේ සිත උපදන විසින් නොගෙන ආස්‍රවයන්ගෙන් මිදුනේ මෙයින් කවර අයුරකින්ද?

ආයුෂ්මත් මහා මොග්ගල්ලානයෙනි, මෙම සතර අයුරින් ඔබ අන්තිමට සඳහන් කළ "ප්‍රතිපදාව සුවසේය. අභිඥාව ද වහාමය (**සුඛා පටිපදා - ඛිප්පාභිඤ්ඤා**) යන අයුරින් මම ඉතිරිව තිබූ තුන් මහ පල නුවණ ලැබුවෙමි.

යථාර්ථය දැකීමෙන් දුක දුරු කිරීම නම් වූ මෙම පොත් පිංචෙහි දුක අවබෝධ කර ගැනීමට අවැසි මඟ මැනවින් දේශනා කොට ඇත.

පූජ්‍යපාද කොත්මලේ කුමාරකස්සප ස්වාමින් වහන්සේ විසින් ගොතටුව, බෝගහ හංදිය පාරේ, චන්දන විහාරස්ථානයේ පවත්වන ලද ධර්ම දේශනාවක් ඇසුරින් සකස් කරන ලද මෙම පොත් පිංච ඕස්ට්‍රේලියාවේ පදිංචි ප්‍රසන්න දිසානායක මහතා ඇතුළු දරුවන් විසින් ධර්ම දානයක් වශයෙන් සකස් කරන ලද්දකි.

මෙම ධර්ම දේශනාව සිදු කල පුජ්‍යපාද කොත්මලේ කුමාරකස්සප ස්වාමින් වහන්සේටත් මේ සඳහා දායකවු පින්වත් හැමටත් සෙත් පතමි පිං දෙමි.

මෙයට මෙතැති,
හිගුරේ පඤ්ඤාසේකර හිමි,
චන්දන විහාරය,
ගොතටුව.
2019

# පුණ්‍යානුමෝදනාවයි!

ලබුනෝරුව කන්ද ආරණ්‍ය සේනාසනාධිපති අතිපූජ්‍ය කොත්මලේ කුමාර කස්සප ස්වාමින් වහන්සේ විසින් 2018 වර්ෂයේ ජූලි මස ගොතටුවේ චන්දන විහාරයේ පවත්වන ලද ධර්ම දේශනාව මූලික කරගනිමින් සකසන ලද දහම් කෘතියකි. මෙම දේශනාව අන්තර්ජාලයේ (You Tube) ඔස්සේ "යථාර්ථය දැකීමෙන් දුක දුරු කිරීම" යන මැයින් විකාශණය කරන ලද අතර ඊට ලද අතිමහත් ප්‍රසාදය හේතුකොටගෙන එය ධර්ම පුස්තකයක් ලෙසින් නිමවා ධර්මකාමී භව නිරෝධය පිණිස වෙහෙසෙන්නවුන්ගේ හිතසුව පිණිස වනු ඇතැයි අපගේ විශ්වාසය වේ. කථන මාධ්‍යයෙන් වූ මෙම දේශනය ලිඛිත මාධ්‍යයට ගැනීමේ දී යම් පුනරුත්දේෂ ඇතිවීම සාමාන්‍ය දෙයකි. ධර්ම රසයට එය බාධාවක් නොවනු ඇත. මින් අත්වන උතුම් කුසලය නිමල ශාසනික මෙහෙවරක යෙදෙන අතිපූජ්‍ය කොත්මලේ කුමාර කස්සප ස්වාමීන් වහන්සේටත් උන්වහන්සේ ගේ උපාධ්‍යාචාර්ය අති පූජ්‍ය මාන්කඩවල සුදස්සන ස්වාමින්වහන්සේටත්, මාන්කඩවල නන්දරතන ස්වාමින් වහන්සේටත්, ලබුනෝරුව ආරණ්‍ය සේනාසන වාසි කල්‍යාණ මිත්‍ර ස්වාමින් වහන්සේලාටත් මෙම ධර්ම දේශනාව සිදු කිරීම සඳහා සියළු පහසුකම් ලබාදෙමින් සැමද අප ධර්ම මාර්ගයට යොමුකරවා දිරිගන්වන ගොතටුව චන්දන විහාරාධිපති, ශාස්ත්‍රපති හිතවත් පූජ්‍ය හිඟුරේ පඤ්ඤාසේකර ස්වාමින් වහන්සේටත්, උන් වහන්සේලා පතන බෝධියකින් උතුම් අමාමහා නිවන් සුවය ශාක්ෂාත් කර ගැනීම පිණිසම මෙම පුණ්‍ය ශක්තිය උපනිශ්‍රය වේවා.

මෙම උතුම් ධර්මදානය හේතුකොට ගෙන ජනිත වන්නාවූ සියලු කුසල් අප හද වඩා යහගුණය කියාදෙමින් ඊට යොමුකල මීට වසරකට ඉහත අප අතරින් ජීවන ගමන කෙලවරකල අපගේ සඳදරණීය මෑණියන් වහන්සේ වන සුමේධා දිසානායක සහ වසර පහකට පෙර අභාවප්‍රාප්ත වූ අපගේ පියාණන් වහන්සේ වන වික්ටර් වීරබද්දන දිසානායක හට අනුමෝදන් වේවා. එසේම සීයාවන කේ. විල්සන් පෙරේරා අප අතරින් වියෝවූ සියළු ඥාති හිතමිත්‍ර ආදීන්ටත්, අපහට සිප්සතර කියාදුන් ගුරුවරුනටත්, රට දැය වෙනුවෙන් දිවිපිදු ශ්‍රී ලංකාවාසී රණ විරුවනටත් අති උතුම් චතුරාර්යය

සත්‍ය අවබෝධය පිණිසම හේතු වාසනා වේවා. එසේම සුජීවත්ව වාසයකරන ඥාති සමූහයාටත් අප සමඟ ධර්ම මාර්ගයේ ගමන් ගන්නා සියළු කළණ මිතුරන්ටත් සැදැහැ සිතින් මෙම දේශනය ලේඛන කළ ශාසන හිතකාමී පද්මා කරුණාතිලක මහත්මියටත්, මෙම දේශනය පටිගත කිරීම සංවිධානය කළ ප්‍රියංජිත් අබේකෝන් මහතාටත් මෙම දේශනය අන්තර්ජාලයට යොමුකළ හිතවත් ලලිත් මල්ලවආරච්චි මහතාටත්, මුල් පිට කවරය චිත්‍රණය කර දුන් තන්ජන්තැන්න පාසලේ දේශානී දියණිය සහ පසු පිට කවරය සැකසූ සහ නන් අයුරින් උපකාර කළ ප්‍රසන්ජිත් සහ නිමේෂ් ගුරු මහතුන්ටත්, මුද්‍රණ කටයුතු කළ නැණිල මුද්‍රණාලයේ කාර්යය මණ්ඩලයටත් නන් අයුරින් අපව ධර්ම මාර්ගයේ යොමු කරවන පුංචි අම්මා වන ප්‍රියංගනී සහ බාප්පා ආනන්ද හේවාවිතාරණ මහතාටත් නිදුක් නිරෝගී චිරජීවනය සහ මෙම භවයේදීම අමාමහා නිවන් සුවය සාක්ෂාත් කරගැනීමට මෙම ධර්ම දානමය කුසලය හේතු වාසනා වේවා.

මීට,
සසුන් ලැදි,
ප්‍රසන්ත දිසානායක
දුෂාන්ත දිසානායක
රොෂාන්ත දිසානායක
2019

***නමො තස්ස භගවතො අරහතො සම්මා සම්බුද්ධස්ස***

ගෞරවණීය නායක මාහිමිපාණන්වහන්සේ ප්‍රමුඛ, පූජනීය මහා සංඝරත්නයෙන් අවසරයි,

ශ්‍රද්ධාසම්පන්න කාරුණික පින්වතුනි,

හැම කෙනෙක්ම, බොහෝම ශ්‍රද්ධාවෙන්, අද දවසේදීත්, ලොවුතුරා බුදුරජාණන්වහන්සේ අප හැමදෙනාටම දුකෙන් මිදීම පිණිස දේශනා කරන්නට යෙදුනු, ඒ ශ්‍රී සද්ධර්මියෙන් ස්වල්පයක් ශ්‍රවණය කරගන්නට සූදානම්වෙන මොහොත.

පින්වතුනි, අපි හැම දෙනාටම අද දවසේදී ලැබිලා තියෙන්නේ බොහොම වටිනා අවස්ථාවක්. ***'දුල්ලභෝ මනුස්සත්ත පටිලාභෝ'*** මනුෂ්‍යාත්මභාවයක් කියන දේ මේ ලෝකයේ දුර්ලභ කාරණාවක් හැටියට බුදුරජාණන් වහන්සේ අපට දේශනා කරන දෙයක්. ඒ වගේම, ශ්‍රද්ධා සම්පත්තියෙන් යුක්තව, ශ්‍රද්ධාව ඇතිව කටයුතු කරන්නට ලැබීම, දුර්ලභ කාරණාවක්.

මේ බුද්ධෝත්පාද කාලයක, තුණුරුවන් කෙරෙහි ශ්‍රද්ධා සම්පත්තිය ඇතුව, සද්ධර්මය ශ්‍රවණය කරන්නට පුළුවන් වටපිටාවක, හිතන්නට පුළුවන් මනසක් ඇතුව, මේ ලැබුණු අවස්ථාව, ලේසියෙන් ලබන්නට පුළුවන්කමක් තියෙන දෙයක් නෙවෙයි. මනුෂ්‍යයෝ හැටියට ඉපදුණු අපට, පිනක් කරන එක, මනුෂ්‍යයෙක් වෙන්න අවශ්‍ය හේතු සකස් කරගන්නවා කියන එක, ඒ තරම් අපහසු නොවෙන්න පුළුවන්. නමුත්, යම් විදියකින් දුගතියකට ගියොත්, නැවත මනුෂ්‍යයෙක් වෙනවා කියන එක, ඒ කෙනෙකුට ලේසි පහසු දෙයක් නෙවෙයි. ඒකෙන්, අපේ ජීවිතය ගැනත් ආපහු හැරිලා බලන්න සිද්ධවෙනවා.

බුදුරජාණන් වහන්සේ දේශනාකරනවා, මේ ලෝකයේ මනුෂ්‍යයෙක් හරි දෙවියෙක් හරි උපදිනවා නම් උපදින්නේ, කුසලයකින් පමණමයි කියලා. එතකොට, දෙවියෙක් හෝ මනුෂ්‍යයෙක් හෝ උප්පත්තිය ලබනවා නම් ලබන්නේ කුසල මූලයක් හේතු කරගෙන, කුසලයක් නිසාමයි. ඒ කුසල හේතුවකින් උප්පත්තිය ලබන, මනුෂ්‍ය ජීවිතයක් අද දවසේදී අපට ලැබිලා තියෙනවා.

දැන් හොඳට කල්පනාකරලා බලන්න, අපේ ජීවිතයේ දවසේ වැඩි කාලයක් ඇතිවෙන්නේ, කුසල් චේතනාද, අකුසල් චේතනාද කියලා. අපේ ජීවිතයේ වැඩිපුර ප්‍රමාණයක් ඇතිවෙන්නේ අකුසල පැත්තට බර සිතුවිලි.

හාල් ටිකක් තියෙන, ගල් ගොඩාක් තියෙන මල්ලකට අතදාලා මිටක් ගත්තොත්, වැඩිපුර හාල් අහුවෙයිද? වැඩිපුර ගල්කැට අහුවෙයිද? වැඩිපුර ගල්කැට අහුවෙනවා.

ඒ වගේ, මරණාසන්න මොහොතේදී, අපේ හිතට ඉදිරිපත්වෙන්න පුළුවන්කම තියෙන්නේ දවසේ වැඩි කාලයක් ගතකරන අකුසල් සිතක්ද, කුසල් සිතක්ද? අකුසල් සිතක්.

අපට අද මේ මොහොතේදී, සිත හදාගන්න පුළුවන්කම තියෙනකොට, අපට ඕන විතර්කයක් අරගෙන හිතන්න පුළුවන්කම තියෙන්න පුළුවන්. නමුත්, හිතන්න එපා, හැමදාම, හැම මොහොතේම, මේ විදියටම තියෙනවා අපේ මනස කියන එක. විශේෂයෙන් මරණාසන්න මොහොතේදී, කෙනෙකුගේ සිත තමන්ට ඕන විදියට පවත්වන්න පුළුවන්කම ලැබෙන්නේ නැහැ.

උදාහරණයක් කිව්වොත්, ඔයගොල්ලෝ හීනෙන් බයවෙලා ඇති කවුරුත්. හීනය පිටින් පේන දෙයක් නෙවෙයි,

තමන්ගේම හිතේ තියෙන විතර්ක ටික තමන්ටම පේන දේ. තමන් හිතන හිතන දේ, තමන්ටම පේන හීනය, තමන්ට පුළුවන් වුනාද නතර කරගන්න? හීනෙන් කෙනෙක් පන්නනවා නම්, පන කඩාගෙන දුවනවා මිසක, අපට ඒක හීනයක් කියලා හිතෙන්නේ නැහැ. ඒ වේලාවට, කුසලයක් මතක් කරගන්න හිතෙන්නේත් නැහැ.

අන්න ඒ විදියම තමයි, මරණාසන්න මොහොතේදී, අපේ සිතත්. මේ පඤ්චායතනයම අක්‍රියවෙලා, ඊටපස්සේ සම්පූර්ණවම එන්නේ, හිතට ඕන දෙය හිත අපට පෙන්වන මොහොතක්. හිත හොඳට සංවර කරගත්තේ නැතිවුනොත්, ඒ වෙලාවට, හිතෙන් පෙන්වන හීනය බලනවා මිසක, වෙන කරන්න දෙයක් අපට ඇත්තේ නැහැ. ඒ නිසා, අද අපි කොච්චර කුසල් කරත්, අපේ ගතිය, නිශ්චිතවම කියන්න පුළුවන්කමක් ඇත්තේ නැහැ. ඒ නිසා අපට කියනවා, අනියත සත්ත්වයෝ, අනියතයි, නියතියක් නැහැ. අපායටද, සුගතියටද කියන එක, නියතියක් නැහැ. අනියතයි.

ඒ අනියත තැනක ඉන්නා අපට, බුදුරජාණන්වහන්සේ දේශනා කළා,

* සත්ති සූත්‍රය, දේවතා සංයුක්තය, සංයුක්ත නිකාය

**“සත්තියා විය ඕමට්ඨෝ
ඩය්හමානෝ ව මත්ථකෙ
සක්කායදිට්ඨිප්පහාණාය
සතෝ භික්ඛු පරිබ්බජේති”**

හිස ගිනිගත්තොත්, ඔළුවට ගිනි ඇවිලුනොත්, ඒ ඇවිලුණු ගින්දර නිවාගන්න අපි මොන තරම් ඉක්මනට උත්සාහවත් වෙනවාද? අන්න ඊට වැඩිය වැඩි උත්සාහයක්

ගන්න සක්කායදිට්ඨිය දුරුකරගන්න, එහෙමත් නැත්නම්, කෙළෙස් දුරු කරගන්න කියලා, අපට දේශනාකළා. මොකද? මේක තමයි ඉක්මන්ම විය යුතු මොහොත නිසා. ඒ නිසා, අපට ඉක්මනින්ම දෙයක් කරගන්න තියෙනවා.

වර්තමාන සමාජය දිහා බැලුවොත්, අපේ සංස්කෘතික වශයෙන් සහ සාම්ප්‍රදායික වශයෙන් පැමිණුනුදේත් එක්ක, ඇත්තටම අපට කරන්න දෙයක් තියෙනවා කියන එක, ගොඩාක් දෙනෙක් තේරුම් අරගෙන ඉන්නවා, දැනගෙන ඉන්නවා. හැබැයි, මොකක්ද කළයුත්තේ කියන එක දන්නේ බොහෝම ටික දෙනයි.

බොහෝ වෙලාවට, අප ළඟටත් ඇවිල්ලා අහන්නේ, ස්වාමීන්වහන්ස, භාවනාවක් කියලා දෙන්න. කොහොමද භාවනා කරන්නේ? දැන් තියෙන ප්‍රශ්නය තමයි, කොහොමද භාවනා කරන්නේ? මොකක් හරි භාවනාවක් කියලා දෙන්න.

හැබැයි, එතකොට අපට හිතෙන ප්‍රශ්නය, ඇයි භාවනා කරන්නේ? මේ භාවනාවෙන් කොහොමද නිවන් දකින්නේ? මේ භාවනාව කොයි විදියට වඩලාද, ජීවිතයට එන දුක නැති කරගන්නේ? අන්න ඒ ප්‍රශ්නයට උත්තරය නැතුව, අපි මොන තරම් භාවනාකරන්න හැදුවත් වැඩක් වෙන්නේ නැහැ.

ඒ නිසා, බුදුරජාණන්වහන්සේ අපට පෙන්නුවේ නැහැ ඉස්සරවෙලාම භාවනා කරන්න කියලා, ඉඳගෙන. අපට පෙන්නුවා අනුපූර්ව ප්‍රතිපදාවක්. නැත්නම්, ඉස්සරවෙලා දැනගෙන ඉන්න තැනක් අපට පෙන්නුවා. සත්‍ය ඥාන, කෘත්‍ය ඥාන, කෘත : ඥාන කියලා තුනක් පෙන්නුවා.

සත්‍ය ඥානය කියලා කිව්වේ, ඉස්සරවෙලා අහලා, දැනගන්න. ඊටපස්සේ කෘත්‍ය ඥානය, කරන්නට පටන්ගන්න.

ඊටපස්සේ, තමන් දැනගත්ත දේ තමන් කරලා ඉවරවුනුබවට දැනුම ඇතිකරගන්න. දැන් ඔන්න, බුදුරජාණන් වහන්සේ අපට පෙන්වපු ක්‍රමය.

සත්‍ය ඥානය නැතුව, කොහොමද, කොතන දක්වා අපි කළ යුතුද කියන එක නැතුව, අපි කොච්චර පටන්ගත්තත් ඒ වැඩය හරියන්නේ නැහැ.

ඒකට මම කියන්නේ, එක ගොවියෙක් නියරක් රහිනවා. තව කෙනෙක් ගිහිල්ලා අහනවා, ඇයි, මොකක්ද මේ කරන්නේ කියලා. මේ කෙනා කියනවා, මම මේ ගේ හදාගන්න යන්නේ. ඉතින් මේ කෙනාත් කියනවා මටත් ඕන ගේ හදාගන්න. ඒක නිසා මමත් යනවා ගේ හදාගන්න කියලා, එයත් උදැල්ලක් අරගෙන ගිහිල්ලා, නියරක් රහින්න පටන්ගන්නවා.

දැන් නියර රැහැලා බලනවා, ගේ හැදිලා නැහැ. දුවගෙන අනිත් කෙනා ළඟට ගිහිල්ලා අහනවා, නියර නම් රැස්සා. හැබැයි ගේ හැදිලා නැහැ.

ඉතින් එයා කියනවා, නියර රැස්සාට ගේ හැදෙන්නේ නැහැ. දැන් නියර හදලා, වතුර පුරවලා, හාලා, මඩවලා, මේ මේ දේ කරන්න. ඒ ටික කරලා එනවා. ඇවිල්ලා කියනවා ඒ ටික කළා, තවම ගේ නැහැ. දැන් එකින් එකට අහන්න වෙනවා.

නමුත් අර පලවෙනි ගොවියා දන්නවා, එයා හොදට කුඹුර හාලා, වපුරලා, වගාකරලා, අස්වැන්න නෙලාගෙන, ඒ දේ විකුණලා, ඒ ලබාගත්ත මුදලින් තමයි ගේ හදාගන්නේ කියන එක මුල ඉඳලා දැක්මක් ඇතුව කරන වැඩේ. තව කෙනෙක් මගින් ගිහිල්ලා ඒ දේ අහලා නියර රහින්න පටන්ගත්තා කියලා, එයාට පුළුවන්කමක් නැහැ, ගේ හදන්න.

වටිනාකම තියෙන්නේ, ගේ හදන දැක්ම. ඒ නිසා, අද අපට ගේ හදන දැක්ම අවශ්‍යවෙනවා.

නිවන් දකින්න නම් අපට අවශ්‍ය, දුක නැති කරගන්න නම් අපට අවශ්‍ය, අන්න ඒ දැක්ම, අපේ ජීවිතයට අවශ්‍යවෙනවා. මේකේදී, සසර දුකත් පැත්තකින් තියන්න. අපේ ජීවිතයේ යථාර්ථය දකින පැත්තකට යොමුවෙන්න.

එක මහත්මයෙක් මගෙන් අහනවා දවසක, ස්වාමීන්වහන්ස, ඇයි අපි නිවන් දකින්න ඕන? මට හොඳ ගෙයක් තියෙනවා. හොඳට මිළ මුදල් තියෙනවා. හොඳ රස්සාවකුත් තියෙනවා. වාහනයකුත් තියෙනවා. ඒ වගේම, හොඳ පවුලක් තියෙනවා. ඉතින් ඇයි අපි නිවන් දකින්න ඕන කියලා. බැලූ බැල්මට, ඇයි අපි නිවන් දකින්න ඕන?

මම කිව්වා, මහත්මයා, මටත් නිවන් දකින්න ඕන නැහැ. හැබැයි, මට ඕන එක දෙයක් කරන්න. ඒ තමයි, මෝඩකම නැතුව ජීවත්වෙන්න. මට ඕන එකම දේ, මෝඩකම නැතුව ජීවත්වෙන එක. මට ඒක කරගන්න තිබුනා නම් හොඳටම ඇති. අපි සාමාන්‍යයෙන් ජීවත්වෙන්නේ, මෝඩ මනසකින්. ඒ මෝඩකම නැතුව ජීවත් වෙන්න පුළුවන් නම් මට ඒ හොඳටම ඇති. අපි මොන තරම් මෝඩද කියන එක, අපේ මනස පැත්තටම හැරිලා බලනකොට, අපේ අදහස් දිහා බලනකොටම, අපිට දකින්න පුළුවන්කම තියෙනවා.

අපට හොඳ ලොකු ගෙයක් තියෙනවා කියලා, අපි සතුටුවෙනවා. හොඳ ලොකු ගෙදරක සතුට අපට දැනෙන්නේ, ඇහැට පේන රූපයෙන්ද? පාට ටිකද සැප? ලොකු ගෙදරක සැප දැනෙන්නේ ඇහැට නම්, ඒ පේන ගෙදර නම් සැප, ඒක ඉතින්

අමාරුවෙන් හදන්න ඕන නැහැ, හොඳ ලොකු ගෙවල් තියෙන තැනකට ගිහිල්ලා, ඒවා දිහා බල බලා ඉන්න පුළුවන්. නැහැ, ජේන එක නෙවෙයි, සැප.

එහෙනම්, ඇඟට දැනෙන ස්වශීයද සැප? හිටගෙන ඉන්නකොට, කකුල් දෙකට පෑගෙන දෙයින් එන එක නම් සැප, ටයිල් එකක් පෑගෙන වෙලාවක ගෙදර සැප දැනෙන්න ඕන. ඒකත් නෙවෙයි.

එහෙනම්, මෙච්චර ලොකු ගෙයක් මම හදාගත්තා කියලා ඇතිවෙන, පුංචිම පුංචි මානසික සතුටක්. පුංචි මානසික තෘප්තියක්. ඒ පුංචි මානසික සතුට, නැතිනම්, සිතේ ඇතිවෙන එක සිතුවිල්ලක සතුට වෙනුවෙන්, අපට ජීවිතයේ කොච්චර කැප කරන්න වෙයිද, ඔය ගේ හදන්න? නිකම්ම ගේ හැදෙන්නේ නැහැ. ගොඩාක් මහන්සිවෙන්න වෙනවා. හදාගත්ත ගේ රැකගන්න, ආයෙත් මහන්සිවෙන්න වෙනවා. ඒ වගේම, ඒ එච්චර හොඳට හදාගත්ත ගෙදර තියෙනකොට එක්කෝ අපට මැරිලා යන්න වෙනවා. එහෙම නැත්නම්, අපි ඉන්නකොට, ගෙදර නැතිවෙලා යනවා. දෙකෙන් එකක් අනිවාර්යයෙන් වෙනවා නේ. ඒකත් දුක.

දැන් ආශ්වාදය, ගෙදර මගේ කියලා හිතෙන පුංචි සිතුවිල්ල. ඒකත් හැම වේලේම ඇවිල්ලා හිත හිතා තියෙනවාද? නැහැ. හිතුවොත් දැනෙනවා. නොහිතුවොත්, දැනෙන්නේ නැහැ.

ඒ පුංචි ආශ්වාදය වෙනුවෙන්, ආදීනවය කොච්චරක්ද? ආදීනවය මහා විශාලයි. ආශ්වාදය, බොහෝම පුංචි තැනක. ඉතින්, මෙන්න මේ පුංචි ආශ්වාදය වෙනුවෙන්, අච්චර ලොකු

ආදීනවයක් විඳින එක මෝඩකමක් නෙවෙයිද? ඒක මෝඩකමක්.

අන්න ඒ මෝඩකම නැතුව ජීවත්වෙන්න තිබුනා නම්, ඒ හොඳටම ප්‍රමාණවත්. වෙන නිවන් දකින්න කියලා අමුතුවෙන් දෙයක් කරන්න ඕන නැහැ. ඔය මෝඩකම නැතිකරගත්තා නම් හොඳටම ඇති.

තව විදියකට මම කියන්නේ, රත්තරන් විඳින මනස කියලා. අපට රත්තරන්වල සැප තේරෙන්නේ කොහොමද? ඇඟට දැනෙනවාද රත්තරන්වල සැප? නැහැ. හැබැයි, මේක මෙච්චර වටිනා මාලයක් කියලා, අපි සැප සතුට විඳින්නේ කොහෙන්ද? හිතෙන්. දැන් මාලයක් දාගෙන අපි බොහොම සතුටෙන් යනවා. පාර අයිනේ ඉන්නා මනුස්සයෙක්, වැල් කෑල්ලක් අරගෙන කරේ දාගන්නවා. දැන් අපි ඒ මනුස්සයාට කියනවා පිස්සෙක් කියලා. ඉතින් ඒක ඒ මනුස්සයාට වටිනවා නේ. ඒ මනුස්සයා පිස්සෙක්වුනේ අපට නේ. වැල් කෑල්ල ඒ මනුස්සයාට වටිනා නිසා නේ කරේ දාගත්තේ. එයාට ඒක ප්‍රශ්ණයක් වුනේ නැහැ.

එතකොට, මේ ලෝකයේ, ඔක්කෝම වැල් කෑලි දාගන්න අය වෙලා, අපි විතරක් මාලෙ දාගන්නා කෙනෙක් වුනොත්, අන්න එදාට අපි පිස්සෙක් වෙනවා. මොකද? ලෝකේ වටිනාකම හැමදාම බාහිර භෞතික වස්තුවේ තියෙන දේ නෙවෙයි, අපි වස්තුව මතට දාලා බලන දේ නිසා.

ඒ නිසා, රත්තරන් විඳින්නේ හිතෙන්. හිතේයි වටිනාකම තියෙන්නේ. වටිනාකම දකින්නේ, භෞතික වස්තුව තුළ. හිතෙන් ලබාදෙන වටිනාකම, වස්තුවේ දකිනකම්, අපි

හැමදාම වස්තුව රැස්කරන්න උත්සාහවත් වෙනවා. මෝඩ නැද්ද? මෝඩයි.

පාර අයිනේ තියෙන කොල කෑලි එකතු කර කර ගියොත් අපි කියනවා, ඒ මනුස්සයාට පිස්සෙක් කියලා. හැබැයි, ඒ කොල කෑලි ටික රුපියල් 5000 කොල වෙලා තිබුනොත් ඒ මනුස්සයා පිස්සෙක් වෙන්නේ නැහැ.

නමුත් ආයර්‍ය ධර්‍මයට සාපේක්ෂව, නිවන් දකින කෙනෙකුගේ මනසට සාපේක්ෂව, ඒකත් මානසික රෝගයක් තමයි.

පාර අයිනේ ඉන්න කඩදාසි ඇහිදින මනුස්සයා, කඩදාසි ඇහිදින්නේ, ඒ මනුස්සයාට කඩදාසි කොළේ වටිනා නිසාද, නැති නිසාද? ඒ මනුස්සයාට වටිනා නිසා. එතකොට, ඒකේ වටිනාකම තිබුනේ, ඇත්තටම කොළේද, එහෙමත් නැත්නම්, ඒ කෙනාගේ හිතේද? හිතේ.

අපි පන්දාහේ කොලයක් වටිනවා කියනා තැන, ඇත්තටම වටිනාකම තියෙන්නේ පන්දාහේ කොළේද, ඒ ගැන ප්‍රතිචාර දක්වන අපේ මනසේද? අපි හිතන්නේ පන්දාහේ කොළේමයි වටින්නේ කියලා. හැබැයි, පුංචි ලමයෙක් අතට ඔය පන්දාහේ කොළේ දුන්නොත්, ටොෆි එකකට ඒක මාරුකරගන්න පුළුවන්, කිසිම ප්‍රශ්නයක් නැතුව. ඔය පන්දාහේ කොළේ නම් වටිනාකම තිබුනේ, පුංචි ලමයත් ඒක නම් දෙන්නේ නැහැ.

ඒ නිසා, ඇත්තටම, කොළේ නෙවෙයි වටිනාකම තිබුනේ. කෙනා කෙනාගේ හිත පැත්තේ. හිතේ තියෙන දේ, එලිය පැත්තෙන් දානකම තමයි, අපේ තිබුණු මෝඩකම වුනේ.

ඔන්න ඔය මෝඩකම දුරුකරගන්න පුළුවන් නම්, නිවන් දකින්න කියලා වෙන අමුතුදෙයක් කරන්න අවශ්‍යවෙන්නේ නැහැ. ඔය මෝඩකමයි අපේ ජීවිතයෙන් දුරුවෙන්න ඕන.

අද ගොඩාක් දෙනෙකුට වරදින තැනක් තමයි, නිවන කියලා දෙයක් හදාගෙන, හදාගත්ත නිවන දකින්න යන ගමන. හිතෙන් හදාගෙන ඉන්නවා නිවන කියලා දෙයක්. ඒ හිතාගෙන ඉන්නා නිවන පස්සේ තමයි, නිවන් දකින්න කියලා යන්නේ. ඔහොම යනකල් නම් කවදාවත් නිවන් දකින්න හම්බවෙන්නේ නැහැ. ඇයි? නිවන කියලා දේකුත් හදාගෙන, හදාගත්ත නිවන දකින්න නේ යන්නේ. මේ බොහොම ගැඹුරු කාරණාවක් මම මේ කියන්නේ.

අද කොහොම හරි ඕන සෝවාන් වෙන්න. ඔය කාවද නිවන් දක්වන්න ඕන? කාවද සෝවාන් කරවන්න ඕන? මේ ඉන්න පුද්ගලයාව. මේ ඉන්න තමන්ව. ඔය තමන් කියන බවම තමයි කෙලේස් වුනේ. ඔය කෙලේස්ම නිවන් දක්වාගන්න නේ අද හදන්නේ. ඒ නිසා, ඔය කෙලෙස් ටික නිවන් දක්වන්න හදනකම්ම, මේ ගමන සාර්ථක දෙයක් වෙන්නේ නැහැ.

ඒ නිසා, අපට සිද්ධවෙනවා, බුදුරජාණන්වහන්සේ දේශනා කළා නම් යම් අර්ථයක් සඳහා මේ දහම, අන්න ඒ අර්ථය සඳහා ගමන්කරන්න.

බුදුරජාණන්වහන්සේ, අපට දහම දේශනා කළේ, මේ ජීවිතයේම, ජීවත්වෙනකොට මෝඩකම නැතුව ජීවත්වෙන්න, දුක නැතුව ජීවත්වෙන්න පුළුවන් ප්‍රතිපදාවක් හදාගන්න. අපි කවුරුත් කැමතියි, දුක නැතුව ඉන්න, සැප ලබන්න. ජීවිතයේ අපි හැමදාම බලාපොරොත්තුවෙන දේ තමයි, දුක අයින් කරදාලා, ජීවිතයට සැප ලංකර ගන්න.

ඒ සැප සොයාගෙන යන ගමනේදී, අපේ මුළු ජීවිතයම හැඩගැහිලා තියෙන්නේ, සකස්වෙලා තියෙන්නේ, දුක අයින්කරලා, සැප සොයන්න ඕන කියන දෙයින්. ඔය සැප අපි දකින්නේ, බාහිර, භෞතික ලෝකය තුළ තියෙන දෙයක් හැටියට. ඒ නිසා තමයි, ලෝකේ තුළ තියෙන සැප සොය සොයා, හැමදාම කටයුතු කරන්නේ. ලෝකේ ගොඩාක් වස්තු, මිළ මුදල්, සැප ගෙනත්දෙන දේ තියෙනවා. ඒ නිසා, බාහිර භෞතික ලෝකයෙන්ම, ඒ සැප සොය සොයා යන ගමනක් මේ.

ඒකට කියනවා අනුසෝතගාමී ප්‍රතිපදාවක් කියලා. පහලට ගලන ගඟක පහලටම ගහගෙන යනවා වාගේ.

ඒ වුනාට, බුදුරජාණන්වහන්සේ අපට දේශනා කළේ එහෙම දහමක් නෙවෙයි. පටිසෝතගාමී දහමක්. ලෝකයා **එලියේ දකිනකොට, නැහැ, එලියේ නෙවෙයි,** මේ පැත්තේ තියෙන්නේ. තමන්ගේ පැත්තට ඇඟිල්ල දික්කරලා පෙන්නුවේ.

මේ වෙලාවේදී, ඔයගොල්ලෝ දුකෙන් තියනවාද, සතුටින් තියනවාද කියන එක මටත් කරන්න පුළුවන් දෙයක්. ඔයගොල්ලෝ එක එක්කෙනා නැගිට්ටවලා බැනගෙන බැනගෙන ගියොත්, ඔයගොල්ලොන්ට සතුටක් දැනෙයිද, දුකක් දැනෙයිද? දුකක් දැනෙයි. ඒ වගේම, ඔයගොල්ලොන්ගේ හොඳ කතාකරොත්, ඔයගොල්ලොන්ට සතුටක් දැනෙයි. දැන්, ඔයගොල්ලෝ සතුටින් තියනවාද, දුකෙන් තියනවාද කියන එක, මේ මොහොතේදී, මටත් කරන්න පුළුවන් දෙයක් වෙලා. ඉතින් අපි ජීවිතයේ වැඩිපුරම බලාපොරොත්තුවෙන්නේ සැප සතුට දෙක. හැබැයි, ඒ සැප සතුට දෙක අපි දීලා තියෙන්නේ කොහාටද? බාහිර ලෝකයට.

ඔයගොල්ලොන්ව සැපෙන් තියන්න, සතුටින් තියන්න අද දූ දරුවන්ට පුළුවන්. හැබැයි, ඒ ගොල්ලන්ටම පුළුවන් ඔයගොල්ලොන්ව දුකට පත්කරන්න.

ඔයගොල්ලෝ හොඳින් තියන්න, ඔයගොල්ලෝ වටේ ඉන්න ඔක්කෝටම පුළුවන්. හැබැයි, ඒ ගොල්ලන්ටම පුළුවන්, ඔයගොල්ලෝ නරකින් තියන්නත්.

මෙන්න මේ විදියේ පවතින ජීවිතය, බුදුරජාණන්වහන්සේ දේශනා කළා, යටහත් ජීවිතයක්, දාස ජීවිතයක් කියලා. ඒ නිසා, අපට ඕන, මෙන්න මේ දාස බවෙන් නිදහස්වෙන්න. යටත්වෙලා ජීවත්වෙන, මේ යටත්වුනු බවෙන් නිදහස්වෙන්න. තමන් තුළ සැප සතුට හදාගන්න තැනක, ජීවත්වෙන්න. එතෙන්ට යන්න තමයි අපට බුදුරජාණන්වහන්සේ දහම් දේශනා කළේ. හැබැයි ඒක ටිකක් සියුම්. ටිකක් නුවණ අවශ්‍යවෙනවා.

***'පඤ්ඤාවන්තස්සායං ධම්මෝ, නායං ධම්මෝ දුප්පඤ්ඤස්ස',*** මහණෙනි මේ දහම තියෙන්නේ, නුවණ තියෙන අයට. නුවණ නැත්නම් මේක තේරුම්ගන්න අපහසුයි.

ඒ නිසා, ටිකක් ගැඹුරුවෙන්න පුළුවන්. ටිකක් අහලා පුරුදු නැත්නම්, නොතේරෙන බවක් වෙන්නත් පුළුවන්. මම පුළුවන්තරම් උත්සාහගන්නම්, මේක සරළව කියලා දෙන්න. ඔයගොල්ලෝත් පුළුවන්තරමක් උත්සාහවත් වෙන්න මේක හොඳින් තේරුම්ගන්න.

**අපට බුදුරජාණන්වහන්සේ දේශනාකරනවා, වැඩි ගොඩාක් දුර, ගොඩාක් දෙයක් තේරුම්ගන්න එකකට නෙවෙයි, අපි ජීවත්වෙන තැන තියෙන ඇත්ත**

## **කාරණා ටික ගැන අවබෝධ කරගන්නවා කියන දේ කරන්න**.

ඒ තමයි, භය තැනක නුවණ පවත්වන්න. මොකක්ද, ඒ භය තැන? ඇස, කන, නාසය, දිව, ශරීරය, මනස කියන මෙන්න මේ ටිකේ නුවණ පවත්වන්න පුළුවන් නම්, ඒක තමයි අද අපට කරන්න පුළුවන් එකම දේ. සතිය සහ සම්පජඤ්ඤය, සිහිය සහ නුවණ, ඔය භය තැනේ යොදාගන්න පුළුවන් නම්, ඒක තමයි වැදගත්.

ඒකේදී, මම ඔයගොල්ලොන්ට මනසිකාරය පවත්වන්න, කරන්න දේකුත් එක්ක පැහැදිලිකරලා දෙන්නම්. දැන් බැරි නම් ගෙදර ගිහිල්ලා හරි හිතන්න, ඇයි මේ කතාව මේ විදියට කිව්වේ කියලා. පියවරවල් 3 ක් තියෙනවා.

පලවෙනි පියවර බොහොම සරළයි. තේරුම්ගන්න පුළුවන්. අපි රූප බලනවා, ශබ්ද අහනවා, ගඳ සුවඳ විඳිනවා, රස විඳිනවා, ස්පර්ශ විඳිනවා, හිතින් සිතුවිලි සිතනවා. අපට හරි පහසුයි, තේරුම්ගන්න පුළුවන්කම තියෙනවා, පලවෙනි පියවර.

දෙවනි පියවර, අපි කවදාවත් එලියේ තියෙන රූපය දැකලා නැහැ, අපි දැකලා තියෙන්නේ ඇහෙන් අපට පෙන්නපු දේ. අපි කවදාවත් එලියේ තියෙන ශබ්දය අහලා නැහැ, අපි අහලා තියෙන්නේ කන අපට දීපු ටික. ඒ වගේම, එලියේ තියෙන ගන්ධය නෙවෙයි දැනගෙන තියෙන්නේ. අපි දැනගෙන තියෙන්නේ, නාසය අපට දීපු ටික. ඒ වගේම, අපි එලියේ තියෙන රස නෙවෙයි විඳලා තියෙන්නේ, දිව අපට දීපු ටික. ඒ වගේම, එලියේ තියෙන දේ නෙවෙයි අපි විඳලා තියෙන්නේ, අපි විඳලා තියෙන්නේ කයේ හැකියාව.

දැන් හිතන්න, ඇයි මෙහෙම කිව්වේ? අපි කවදාවත් රූප දැකලා නැහැ. අපි දැකලා තියෙන්නේ අපේ ඇහේ හැකියාව. දැන් තමයි අපට ටිකක් නුවණින් විමසා බලන්න වෙන්නේ.

අපි හිතාගෙන ඉන්නේ, රූපයම පේනවා, රූපය බලන්න පුළුවන් කියන තැනකින්. දැන්, මේ මල් වට්ටියක් අපට පේනවා, මේ පේන විදියට. ඒ වගේම, මී මැස්සෙකුට පේනවා, හරියට අර මීවදයේ හැඩයට, අටපට්ටම් වගේ හැඩයක් තියෙන්නේ, ඒ හැඩයට. එතකොට, දෙවියෙකුට, මෙතන මොකක්වත් පේන්නේ නැහැ, එයාගේ සියුම් ශරීරයේ මට්ටමට, එයාට විනිවිද යනවා.

දැන් කාට පෙනෙන පෙනීමද, හරිම පෙනීම? අපි කියනවා අපට පේන එක හරි කියලා. මීමැස්සා කියයි, එයාට පේන එක හරි කියලා. හැබැයි, දෙවියා කියනවා, එයාට පේන එක හරියි කියලා. එතකොට, කාට පේන එකද, ඇත්තටම හරිම පෙනීම?

අපි දැකලා තියෙන්නේ, කෙන කෙනාගේ ඇහේ මට්ටම. මීමැස්සා දැක්කේ එයාගේ ඇහැ එයාට පෙන්වපු දේ. දෙවියා දැක්කේ එයාගේ ඇහැ පෙන්වපු දේ. අපි දැක්කේ, අපේ ඇහැ පෙන්වපු, ඇහැට වැටුනු වර්ණ සටහන ගෝචර කරගන්න ප්‍රමාණය.

ඔයගොල්ලොන්ගේ ඇස් පරීක්ෂාකරලා තියෙනවා නම්, ඔයගොල්ලෝ දන්නවා, ඇහේ කාචය පරීක්ෂාකරන්න ඇහැට දානවා, eye drops ටිකක්, ඇහේ කාචය ලොකුවෙන්න. ඇහේ කාචය ලොකුවෙනකොට, ඔයගොල්ලොන්ට මේ සාමාන්‍ය සුදු නෙවෙයි, දීප්තිමත් සුදුපාටක් බලන්න පුළුවන්. සාමාන්‍යයෙන් එන වර්ණය නෙවෙයි, ඒ වර්ණය ටිකක් වැඩිපුර පේනවා.

දැන් ඒ දීප්තිමත් පාටද හරිම පාට, නැතිනම්, අර කලින් පෙනුනු පාටද හරිම පාට? අපි කියයි, කලින් තිබුනු පාට තමයි හරි පාට, දැන් මේ බෙහෙත් දාපු නිසා තමයි, මේ මට්ටම කියලා. හැබැයි අපි ඉපදුන මොහොතේ ඉඳලාම අපේ ප්‍රසාදය තිබුනේ අර බෙහෙත්දාපු මට්ටමේ වෙලා තිබුනොත්, එහෙම නම්, අපි අර කලින් තිබුනු මට්ටමට වැටුනොත් අපි කියයි, ඇහැ පේන්නේ නැතුව ගියා කියලා.

ඔයගොල්ලෝ, ඇහේ මට්ටම විඳින නිසා තමයි, ඇහේ මට්ටම දකින නිසා තමයි, ඔයගොල්ලොන්ට ඔතන ඉඳලා මේ මේසය සොලවන්න පුළුවන්වෙන්නේ. ඔතන ඉඳලා මේසය සොලවන්න බැරිද? හරි ලේසියි. ඇඟිල්ලෙන් ඇහැ පොඩ්ඩක් සොලවා ගන්නකො, මේසේ හෙල්ලෙනවා පේන්නේ නැද්ද කියලා. පේනවා.

ඇත්තටම, අපි විඳින්නේ, හැමදාම, අපේ ඇහැ පෙන්වන්නේ යම් මට්ටමකටද, ඒ ඇහැ පෙන්වන දේ. මම සම්මුතිය තුළ තියෙන උදාහරණ ගොඩාක් පෙන්වන්නේ, මේක තේරුම්ගන්න පහසුවෙන්න.

ඔයගොල්ලෝ වාහනයක ඉන්නකොට, බස් එකක හරි යනකොට, තමන් ඉඳගෙන ඉන්නා බස් එක නෙවෙයි, පැත්තෙන් තියෙන බස් එක ඉස්සරහට යනකොට, තමන් ඉන්න බස් එක පිටිපස්සට යනවා කියලා රැවටිලා නැද්ද? රැවටිලා තියෙනවා.

එතකොට, හැම වේලාවකදීම, අපේ ඇහැ පැත්ත වෙනස් වෙනකොට, අපි දකින්නේ බාහිර රූපය පැත්තෙන්, වෙනස් වෙනවා වගේ. **ඒකයි කිව්වේ, රූපය නෙවෙයි අපි**

**විදලා තියෙන්නේ, ඇහැ කියන තැන**. එතකොට, අපි ඇහේ හැකියාව තමයි හැමදාම විදින්නේ.

ඇහැ සහ රූපය කියනකොට, මේ ඇහැ සහ රූපය කියන එක ධර්මය තුළ විග්‍රහවෙන, බොහොම ගැඹුරු කාරණාවක්. කන සහ ශබ්දය කියන එක බොහොම ගැඹුරු කාරණාවක්.

ඒක, ධම්මසඞ්ගණී ප්‍රකරණයේ එන රූප කාණ්ඩය තුළදී, චක්ඛායතන රූපය සහ රූපායතන රූපය, මම එක ආයාතනයක් අරගෙන විස්තරකරලා පෙන්වන්නම්. හැබැයි, ටිකක් ගැඹුරුයි, කල්පනාවෙන් අහන්නවෙනවා.

ඇහෙන් තොර රූපය ගැන කතාකරන්නේ නැහැ. රූපයෙන් තොර ඇහැක් ගැන කතාකරන්නේත් නැහැ. ඇහැත් එක්කම එකටම උපදින, රූපයක් ගැන තමයි කතාකරන්නේ.

මේ ශාසනයේ ඇහැ කියලා කතාකරන්නේ, මේ අපි දන්නා මේ ඇහැ නෙවෙයි. ඔයගොල්ලෝ දන්නා, ඇහැ කියලා එකක් තියෙනවා නම්, ඒ ඇහැ, රූපයක්.

ඇයි, රූපයක් කියලා කියන්නේ? ඔයගොල්ලොන්ට, ඇහැ ගැන ඔය නිමිත්ත තියෙන්නේ, කඩදාසියක හෝ දැකලා, වීඩියෝ එකක හෝ දැකලා, ෆොටෝ එකක හෝ දැකලා, කොහොම හරි ඒ දැකපු රූපායතනයක් ගැන තියෙන නිමිත්තක් නෙවෙයිද, වර්ණ සටහනක් ගැන නිමිත්තක් නෙවෙයිද, ඔය ඇහැ කියලා ඔය තියෙන දැක්ම තියෙන්නේ? වර්ණ සටහනක් ගැන.

ඔයගොල්ලෝ, රෑට කළුවර වෙලාවට, කණ්නාඩියක් ඉස්සරහට ගිහිල්ලා බලන්න ඇහැ පේනවාද කියලා. ඇහැ

බලන්න වෙන්නේ නැහැ. ටෝච් එක අරගෙන කණ්නාඩියට ගහලා බලන්න ඇහැ පේනවාද කියලා. ඒත් ඇහැ පෙන්නේ නැහැ. ඔයගොල්ලොන්ට සිද්ධවෙනවා, ඇහැට ටෝච් එක ගහගෙන, ඇහැ පැත්ත එලිය කරගෙන, ඒ එලිය අර කණ්නාඩියට පතිතකරලා එන ආලෝකය ආපහු ඇහැට පතිත කරගන්න.

එතකොට, ඇහැ දැක්කා කියලා, ඔයගොල්ලෝ දැක්කේ වර්ණ සටහනක් නෙවෙයිද? පාට ටිකක්. වර්ණ සටහනක්. එතකොට, අද අපි ඇහැ කියලා දන්නේ, වර්ණ සටහනක් ගැන තියෙන නිමිත්තක් මිසක ඇහැ නෙවෙයි.

අපි කණ්නාඩිය ඉදිරියට ගිහිල්ලා ඇහැ බලනකොට, ඒ ඇහැ පේන්නේ, කණ්නාඩිය ඇතුලේ නම්, ඒ ඇහැ බලන්නේ මොකෙන්ද? කණ්නාඩිය ඇතුලේ පේන්නේ ඇහැ නම්, ඒ ඇහැ බලන්නේ මොකෙන්ද? එතකොට, ඒ බලන ඇහැද ඇත්ත ඇහැ, කණ්නාඩිය ඇතුලේ පේන ඇහැද ඇත්ත ඇහැ? බලන ඇහැ ඇත්ත ඇහැ කියලා අපි කියනවා. මම ඕකේදී කියන්නේ, ඇහැ කොහේ දකින්නද, අපි අපේ මුහුණවත් දැකලා නැතිකොට කියලා.

මුහුණ දැකලා තියෙනවාද? කණ්නාඩි දැකලා තියෙනවාද? අපි දැකලා තියෙන්නේ මුහුණ නෙවෙයි, ඇත්තටම කණ්නාඩිය නේ. කණ්නාඩිය ඇදවෙලා තිබුනොත් මුහුණත් ඇදවෙලා පෙනෙයි.

මම කියන්නේ බොරුනම්, ඔයගොල්ලෝ කණ්නාඩි 5 ක් 6 ක් එක පෙලට තියලා මුහුණ බලන්න. ඔයගොල්ලොන්ට එක කණ්නාඩියක මුහුණ ටිකක් දිගටියි, එකක පොඩ්ඩක් මහතයි, එක එක විදියෙන් මුහුණු ටිකක් බලාගන්න පුළුවන්. ඊටපස්සේ

මට කියන්න, කොයි කණ්නාඩියේ පේන මුහුණද හරිම මුහුණ කියලා.

අපට කියන්න වෙන්නේ නැහැ. ඇයි කියන්න වෙන්නේ නැත්තේ? අපි දැකලා තියෙන්නේ, කණ්නාඩියේ හැකියාව මිසක මුහුණ නොවන නිසා. කණ්නාඩිය ඇදවෙලා තිබුනොත්, මුහුණ ඇදයි. ඒ නිසා, අපි මුහුණවත් දැකලා නැත්නම්, මුහුණේ තියෙන ඇහැ කොහේ දකින්නද?

ඒ නිසා, මේ ඇහැ කියන එක, මේ ශාසනයේ කතාකරන්නේ, දශීන කෘත්‍යයට. දශීන කෘත්‍යය කියලා කියන්නේ පෙනෙනා බවට. ඒකට කියනවා, ප්‍රසාද රූපය කියලා. පෙනෙන ලක්‍ෂණය. මේ බාහිරින් එන ආලෝකයට බිදෙන බව තියෙනවා ඇසේ. අන්න ඒ බිදෙන ප්‍රසාද රූපයට තමයි ඇහැ කියලා කියන්නේ.

ඒ ප්‍රසාදය බිදෙනබවට, බිදෙන ලක්‍ෂණයට, ඒ මොහොතට තමයි ඇහැ කියලා කියන්නේ. ඒ නිසා, ඇහැ ගැන විස්තර කරනකොට කියනවා, *( පටිසම්භිදා මග්ග ප්‍රකරණය - වත්ථුනානත්ව ඤාණය ) ***'අහුත්වා සම්භූතං හුත්වා න භවිස්සති'*** කියලා. පෙර නොතිබීම හටගෙන ඉතුරු නැතුවම නිරුද්ධවෙනවා.

ඔක පැහැදිලි කරන්න මම මෙහෙම කිව්වොත්? රීල් එකක් දාලා ෆොටෝ ගහන පරණ කැමරාවක් දැකලා තියෙනවා නේද? මේකේ, නෙගටිව් පටියක් තියෙනවා. එක නෙගටිව් පටියකින් පුළුවන් එක ෆොටෝ එකක් ගහන්න. එතකොට මේ නෙගටිව් පටිය, ආලෝකයට සංවේදී, ආලෝකයට පිච්චෙනවා. ඒකයි, එළියට ඇද්දොත් අපි කියන්නේ කලුවෙලා යනවා කියලා. ඒ නිසා, ආලෝකයට පිච්චෙනවා.

අන්න ඒ වගේ තමයි, මේ ඇහේ ස්වභාවයත්. ආලෝකයට සංවේදී, ආලෝකයට පිච්චෙනවා. එක නෙගටිව් එකෙන් ෆොටෝ දෙකක් ගහන්න පුළුවන්ද? බැහැ. ඒ වගේම, මේ ඇහෙනුත් රූප දෙකක් බලන්න බැහැ. එකපාරට එන පාට ටිකක්, වර්ණ සටහනක්, නැතිනම් මේ එන ආලෝකය බාහිර වස්තුව මතට පතිතවෙලා එන, පරාවර්තන ආලෝකය, ඇහැට පතිතවෙනකොට, ඒ එකපාර ඒ ආලෝකය පතිත කරගන්න විතරයි, ඇහැට පුළුවන්කම තියෙන්නේ.

ඒ ආලෝකය තියෙන බවත් එක්කම තමයි, පතිතවෙන බවත් එක්කම තමයි, ඇහැ තියෙනවා කියලා කියන්නේ. ඇහැත් එක්කම තමයි ආලෝකය තියෙනවා කියලා කියන්නේ. ඔන්න ඕක තමයි, දර්ශන කෘත්‍යය, නැතිනම්, පෙනෙනබව හැදෙන තැන. ඕක නිසා තමයි ඇහැ කියලා කියන්නේ.

ඊටපස්සේ, දෙවනි පියවර, අර ඇහැ බිඳුනු එකේ ලක්ෂණ ටික අරඹයා, මොහොකද මේ විදියේ වේදනාවක්, සඤ්ඤාවක් තිබුනේ කියලා, හිතින් හිතනවා. එතකොට, ආශ්‍රව ටිකෙන් ගෙනල්ලා දෙනවා, තමන් ඇසුරු කරලා පුරුදු, දන්න දේ, ගෙනල්ලා දෙනවා හිතින්, මේ එළියේ තියෙන "දැහැත් වට්ටිය" තමයි දැක්කේ කියලා.

දැන් "දැහැත් වට්ටිය" කියන එක දැක්කාද? දැනගත්තාද? දැනගත්තා. දකිනවා කියන තැන තිබුනේ වර්ණ සටහනක්. පාට ටික අස්සේ, ඇහැට ආවාද, දැහැත් වට්ටි? අපට පැහැදිලියිනේද ඇහැට පතිතවෙන්නේ වර්ණ සටහනක් කියන එක. වර්ණ සටහනේ, පාට ටිකේ, දැහැත් වට්ටි තිබුනාද? පාට කියනා තැනදී, දැහැත් වට්ටි තිබුනේ නැහැ. වර්ණසටහන දන්නේ නැහැ, මම දැහැත් වට්ටියක් අරගෙන ඇහැට

පතිතවුනා කියලා. ඇහැ දන්නේත් නැහැ මම දැහැත් වට්ටියක් ඇහැට දාගත්තා කියලා.

සම්පූර්ණීම, ඒ දෙක අරඹයා අපි හිතිනුයි දැනගන්නේ, දැහැත් වට්ටියක් කියන සිද්ධිය තම තමන් හිතෙන් දැනගන්න දේ. දැනගන්න මොහොත වෙනකොටත්, දැහැත් වට්ටිය කියනබව දැනගන්නා තැනදී, ඒ වර්ණ සටහනයි, ඒ ඇහැයි, වැයවෙලා නැද්ද ඒක දැනගන්න? ඇහැයි, වර්ණ සටහනයි, වැයවුනු නිසා තමයි, මෙහේ දැනගත්තේ. මේ ක්ෂණිකව සිද්ධවෙන සිද්ධියක් ගැන මේ කතාකරන්නේ.

දැන් දැනගත්ත තැන, අපි හිතනවා, එලියේ තියෙන දැහැත් වට්ටිය තමයි දැක්කේ කියලා. **එලියේ තියෙනවා කියලා හිතනාකමට කියනවා භවය කියලා, කාම භවය**. සතර මහා ධාතුව පැත්තේ දැහැත් වට්ටියක් තියෙනවා කියලා හිතනාකම.

***භව පච්චයා ජාති.*** භවය නිසා ජාතිය හදලා දෙනවා. එක් ක්ෂණික ජාතිය. මේ මොහොතේම ඇහැ හදනවා. දැන් අපි කිව්වා නේ එක නෙගටිව් එකෙන් එක ෆොටෝ එකයි පුළුවන් කියලා. එක ඇහෙන් එක රූපයයි. දැන් ආපහු ඇහැ අළුත් කළා. අළුත් නෙගටිව් එකක් දැම්මා. දැන් ආයිත් ෆොටෝ එකක් වදිනවා. වදිනකොට, දැන් හිතේ ආශ්‍රව කොච්චර රැස්වෙලාද? මීට කලින් මොහොතේ තිබුණු දැහැත් වට්ටිය තාම තියෙනවා. දැන් ඔය සිද්ධිය වේගයෙන් වෙනකොට, අපට එක දිගට තියෙන දැහැත් වට්ටියක් තියෙනවා. අපට අතරක් හම්බවෙන්නේම නැහැ.

එතකොට, දැන් ඇත්තටම අපේ ජීවිතයේ "ඇහැ" කියලා කතා කළේ ඔන්න ඔය තැන. මේ මොහොතේ හටගෙන ඉතුරු නැතුව නිරුද්ධවෙනවා කියලා කියන මේ අවස්ථාව.

එතකොට, මේ ඇහැ ගැන නොදන්නාකම නිසා තමයි, අපි හැමදාම එලියේ තියෙනවා කියලා රූප තියෙන බවටම ඇසුරු කරන්නේ. ඇත්තටම අපි රූප දකිනා මොහොතේදී, අපට රූප ගැන දැනගන්න පුළුවන්කම ඇත්තේ නැහැ. දැනගන්න පුළුවන් වුනොත්, ආලෝකයෙන් කෙලින්ම එන්න වෙන්නේ දැහැත් වට්ටි, කෝප්ප, මේස, මිනිස්සු. නමුත් වර්ණ සටහන සහ ඇහැ වැයවුනු තැනක, කෙනා කෙනා, කෙනා කෙනාගේ සිතින් විඳිනවා, ඒ රූපය පිළිබඳව.

එතකොට, හිතෙන් වින්දේ, කෙනා කෙනා හිතේ රැස්කරගෙන හිටපු ටික නෙවෙයිද? කෙනා කෙනා හිතේ රැස්කරගෙන හිටපු දේ. රැස්කරගෙන නැතිවුනොත් දෙයක්, ආශ්‍රව පැත්තෙන් තිබුනේ නැත්නම්, ඔයගොල්ලෝ කියනවා, ඒක මම දන්නේ නැහැ කියලා. නොදන්නා දෙයක් වෙලා. ඒක කවදාවත් දැකපු නැති දෙයක් වෙලා.

එතකොට, දැන් ඒකයි කිව්වේ, හැම වේලාවකදීම, ඇහැ කියන මට්ටමේදී, අපට නුවණ නැහැ. දැනගන්නා මට්ටමේදීයි අපි දන්නේ. දැහැත් වට්ටිය කියලා අපි දැනගන්නවා. අපි හිතන්නේ, දැහැත් වට්ටිය දකිනවා කියලා. නැහැ, දැකපු තැන දැනගත්තා දැන්, දැහැත් වට්ටිය කියලා.

හැබැයි ඔය දැනගත්ත දැහැත් වට්ටිය තිබුනේ කෙනා කෙනාගේ හිත පැත්තෙන්. අපි කියමු, කනයි ශබ්දයයි කියලා. අපි හිතන්නේ ඒ ශබ්දය එයා කතාකරන නිසාම අපට ඇහෙනවා කියලා. ඒ කියන එකම අපි දැනගන්නවා කියලා.

නැහැ, අපි හිතාගෙන ඉන්න, අපේ හිතේ තියෙන ටික විතරයි, අපට දැනගන්න පුළුවන්කම තියෙන්නේ.

මම ඕකේදී අහන එකක් තමයි, කවුද දැකලා තියෙන්නේ "චැං චැං" එකක් කියලා. කවුද දැකලා තියෙන්නේ, "චැං චැං" එකක්? "චැං චැං" එකක් කාටවත් දකින්න විදියක් නැහැ. මොකද? ඒක මම හදලා කියන එකක් නිසා. එහෙම එකක් තියෙන නිසා නෙවෙයි, ඒක හදලා කිව්වේ. දැන් ඔයගොල්ලොන්ට "චැං චැං" එකක් කියන කොට, ඔයගොල්ලොන්ට මතක් කරගන්න හිතේ නිමිති නැහැ. ශබ්දයක් විතරයි. ශබ්දය අරඹයා සිහිපත් කරගන්න ආශ්‍රව ටිකක්, රැස්කරගත්ත ටිකක් තිබුනේ නැහැ.

කවුද දැකලා තියෙන්නේ, "පාන්"? දැන් පාන් දැකපු අය ඕන තරම් ඉන්නවා. මෙතන ඉන්දියන් ජාතිකයෙක් හිටියොත්, එයත් පාන් කියනකොට කියයි, මාත් දැකලා තියෙනවා කියලා. පාන් අරගෙන එන්න කිව්වොත්, ඔයගොල්ලෝ පාන් රාත්තලක් අරගෙන එනකොට, ඉන්දියන් ජාතිකයා බුලත් විටක් අරගෙන ඒවි. මොකද? ඒ අයගේ භාෂාවෙන්, පාන් කියන්නේ බුලත්වලට නිසා.

දැන් පාන් කියන ශබ්දය ඇහෙනකොට, ඔයගොල්ලොන්ගේ කන ළඟට යනකොට ඒක පාන් රාත්තලක්වෙලා, එයාගේ කන ළඟට යනකොට, බුලත් විටක්වෙලා ගියාද? නැහැ.

ශබ්දය, ශබ්දය විදියටම කනට ගැටුනා. හැබැයි කෙනා කෙනා සිහිපත් කරගත්තේ, කෙනා කෙනාගේ හිතේ තියෙන නිමිති ටික. අපි හිතනවා, අපි ශබ්දය තේරුම්ගත්තා කියලා.

ඇත්තටම තේරුම් ගත්තේ මොකක්ද? අපේ හිතේ තියෙන ටික, ආශ්‍රව ටික.

හැම වේලාවකදීම, දකින රූපය අරඹයාත් ඒ විදියටම තමයි අපි හිතන්නේ. ඇහැට පේන රූපය අරඹයා අපි හිතනවා, අම්මාම තමයි මේ ඉන්නේ. අම්මාවමයි පේන්නේ. දරුවාමයි පේන්නේ. අපට ඒකේ වෙනසක් ඇත්තේ නැහැ.

නමුත් ඇත්තටම බැලුවොත්, වර්ණ සටහනෙන් අම්මා ඇවිල්ලා තියෙනවාද? වර්ණ සටහන පැත්තෙන් අම්මා එනවා නම්, ඒ වර්ණ සටහන ගැටෙන ඔක්කෝටම අම්මාව පේන්න වෙනවා. නමුත් වර්ණ සටහනෙන් අම්මාව එන්නේ නැහැ.

වර්ණ සටහන ඇතිවෙන තැනක අපි, අපේ හිත පැත්තේ ඉන්න අම්මා කියනබව, සිහිපත් කරගන්නවා. සිහිපත් කරගත්තහම, හිතේ ඉන්න අම්මා තමයි එලියේ ජීවත්වෙන්නේ කියන වැරදි දැක්ම, අපේ ජීවිතයේ ඇතිවෙනවා. දැන් අපට එලියේ ඉන්න අම්මාව ඇසුරුකරන්න පුළුවන්කම තියෙනවා. දැන් ඒ අම්මාට කැමතිවෙන්න පුළුවන්.

ඒ කැමතිවෙන තරමටම, ඒ රූපය වෙනස් වෙනකොට, විපරිනාම වෙනකොට, ඕන තරම් දුක් විඳින්න පුළුවන්කමත් තියෙනවා. අම්මා මැරුනහම, අපට ඕන තරම් අඬන්න, වැලපෙන්න පුළුවන්කමත් තියෙනවා.

මම ඕකේදී කියන්නේ, අපි ඇත්තටම අඬන්නේ, අම්මා මැරුනාට නෙවෙයි, අම්මා ජීවත්වුනාට කියලා. එහෙම නෙවෙයිද? අපි අඬන්නේ, අම්මා මැරුණාට නෙවෙයි, අම්මා ජීවත්වුනාට. ඇයි? අම්මා ජීවත්වෙච්ච කාලේ ඒවා, හිත හිතා, කිය කියා නෙවෙයිද දුක්වෙන්නේ? ජීවත්වෙනකොට මෙච්චර ආදරෙන් මට සැළකුවා. මම ගැන මෙහෙම මෙහෙම සොයා

බැලුවා. මේ විදියට අපි ගැන බලපු අම්මාත්, දැන් ජීවත්වෙච්ච කාලේ වුනු සිද්ධි ගැන හිතනකොට, ජීවත්වෙච්ච අම්මා ගැන හිත හිතා නෙවෙයිද දුක්වෙන්නේ? අපි දුක්වෙන්නේ ජීවත්වෙච්ච අම්මා ගැන හිත හිතා.

අපි ඇත්තටම මරණයට නෙවෙයි දුක්වෙන්නේ, අපි දුක්වෙන්නේ ජීවත්වෙච්ච අම්මා ගැන හිත හිතා. හිතන තරමට දුක එනවා. අපි මරණයට ඇඟිල්ල දික්කරාට, ඇත්තටම අපි දුක්වෙලා තියෙන්නේ, තමන්ගේම හිත ගැන හිත හිතා. ඇයි? රූපය පැත්තෙන් දැන් අම්මා ජීවත්වෙනවා කියන එක නැහැ නේ.

ඔය ජීවත්වෙන අම්මා හදලා දුන්නේ කොයි පැත්තෙන්ද? තමන්ගේම හිත පැත්තෙන්. දැන් තමන්ගේම හිත ගැන හිත හිතා නෙවෙයිද ඔය දුක්වෙන්නේ? අම්මා ගැන ගොඩාක් දුක්වෙනවා කියලා කවුරුත් දුක්වෙන්නේ, තමන්ගේම හිත ගැන හිත හිතා නෙවෙයිද? තමන්ගේම හිත පැත්ත ගැන හිත හිතා දුක්වෙනවා.

ලෝකෙට ඔය වෙනස පේන්නේ නැහැ. ලෝකෙට පේන්නේ අම්මා මැරුණු නිසා තමයි දුක එන්නේ කියලා. ඒ වුනාට, ඇත්තටම, අපි කෙනා කෙනා, තම තමන්ගේ අම්මා ජීවත්කර ගන්නාකම නිසා, හිතෙන් අම්මා හදාගත්තකම නිසා, අම්මා මැරෙන දුක අපට විඳින්න පුළුවන්කම තියෙනවා.

ඒ වගේම, අපට ප්‍රිය වචන, අප්‍රිය වචන, තමන් තුළ හදාගන්න නිසා, බැනුම හදාගෙන අහගන්න පුළුවන්කම තියෙනවා. අපි හිතන්නේ බැනපු නිසා තමයි දුක එන්නේ කියලා. (කොච්චර කිව්වත් ලේසියෙන් තේරෙන දෙයක් නම් නෙවෙයි, මේ කියන දේ.) අපට හිතෙන්නේම, බනින නිසා

තමයි අපට දුක එන්නේ කියලා. නමුත් ඇත්තටම බැනුම හදාගන්නේ, අපි අපේ පැත්තේ කියන එක අපට පේන්නේ නැහැ.

අපේ ආරණ්‍යයට ඇවිල්ලා හිටියා ඉන්දියානු ජාතික හාමුදුරු දෙනමක්. මේ හාමුදුරු දෙනම, දාන ශාලාවේ ඉන්නකොට, අපි කට්ටිය කතා කර කර හිටියා. මේ දෙන්නා හයියෙන් හිනාවෙනවා. අපි ඇහුවා ඇයි හිනාවෙන්නේ කියලා. මේ ගොල්ලෝ මරාටි භාෂාව විතරයි දන්නේ. ඉතින් අපි මරාටි භාෂාව දන්නේ නැති නිසා පාළි භාෂාවෙන් තමයි කතා කරගත්තේ. මේ අය කියනවා, ඔය ටික ඉන්දියාවේ ගිහිල්ලා එහෙම කියන්න එපා. එහේ ගිහිල්ලා කිව්වොත් ගුටිත් කාලා තමයි එන්න වෙන්නේ කියලා.

අපි ඇහුවා ඇයි කියලා. ඒ තරම් හොඳ වචන ටිකක් නම් නෙවෙයි කිව්වා, ඔය ටික. අපි කතා කළේ බොහෝම හොඳ වචන ටිකක්. නමුත් ඒ අයට බොහොම නරක වචන ටිකක් වෙලා.

දැන් ප්‍රශ්නෙ තියෙන්නේ, වචනයද හොඳ වුනේ, වචනයද නරක වුනේ? වචනය අරඹයා ප්‍රතිචාර දක්වන ක්‍රමයද? වචනය අරඹයා අපි රැස්කරගත්ත ආශ්‍රව ටික පැත්තෙන් අපට හොඳ නරක හදාගන්න පුළුවන්කම ලැබුනා. හොඳ වචන, නරක වචන.

එතකොට, දැන් අපට ඕන තරම් බැනුම් අහන්න පුළුවන්. දැන් අහන බැනුම, අපි හිතන්නේ, ඒ මනුස්සයා බනින නිසා අහනවා කියලා. ඇත්තටම, ඒ වචනෙන් වචනය, අපි අස්සේ ගැටගහ ගන්න නිසා නෙවෙයිද, අපි බැනුම අහන්නේ? අපි අස්සේ ගැටගහ ගන්න නිසා.

මෙතෙන්ට ඇවිල්ලා, චීන භාෂාවෙන් මනුස්සයෙක් අපේ වරදක් කියාගෙන කියාගෙන ගියොත්, අපට කිසි ප්‍රශ්නයක් නැහැ, අපි හිනාවෙවීත් ඉදීවි. හැබැයි, ඒ ටිකම සිංහලෙන් කියනකොට, අපට හොඳ බැනුමක් අහගන්න පුළුවන්කම තියෙනවා.

දැන් ඇත්තටම ප්‍රශ්ණය තිබුනේ කියපු එකේද? එහෙම නැත්නම්, අපි ළඟ, අපි තේරුම් ගන්නකමේද? අපි තේරුම් ගන්නකමේ. බැනුම අප තුළ හදාගන්නකම, බැනුම අපි බාර ගන්නාකම.

ඔන්න ඔය මට්ටමෙන් තමයි අපි මිදෙන්න ඕන. හැම වේලාවකදීම, අප තුළම, අපේ හිතේම දේ විඳ විඳ, අපි ඒක එළියට දානවා, බාහිර එළියේ තියෙන දේ තමයි අපි විඳින්නේ කියලා. අර මනුස්සයා බනින නිසාම තමයි, මම බැනුම් අහන්නේ කියලා. ඇත්තටම බැනුම මේ පැත්තෙන් හදාගන්නවා.

අපි හැමදාම ගනුදෙනු කරන්නේ, අපේම හිතත් එක්ක, අපේම හිතත් එක්ක කරන ගනුදෙනුවේ ප්‍රතිඵල අපි දකින්නේ, භෞතික ලෝකයේ එළියේ තියෙන දෙයත් එක්කයි මේ ගනුදෙනුව කරන්නේ කියලා.

අපි හැමදාම ඇසුරුකරන්නේ, පුංචිකාලේ ඉඳලා අපිව ආදරෙන් හදාගත්ත අපේ අම්මාව. ඒ අම්මා, අපිව පුංචි කාලේ ඉඳලා ආදරෙන් හදාගත්ත අම්මා. දැන් ඇහැට පේන වර්ණ සටහනෙන්, ඇහැට පේනවාද පුංචි කාලේ ඉඳලා හදාගත්තා කියන එක? නැහැ. ඒ වුනාට, ඒ පේන වර්ණ සටහන අරඹයා, කෙනා කෙනා හිතෙන් නෙවෙයිද උපද්දගන්නේ? කෙනා

කෙනා, කෙනා කෙනාගේ හිතම විදිනවා. විඳ විඳ අපි කියනවා මම මේ අම්මාත් එක්ක ඉන්නවා කියලා.

ඒකට තමයි, බුදුරජාණන්වහන්සේ අවිද්‍යාව කියලා කිව්වේ. නොදන්නාකම. නොදන්නාකම තියෙන තැන, ආයතන 5 යි. අද අපේ රළු විදියටම ගත්හම, ආයතන 5 යි. රූපය පැත්තේ තියෙන ආයතන පහේ නොදන්නාකමෙන්, හයවෙනි ආයතනයෙන් කරලා තියෙනවා.

(මම මේක ගොඩාක්ම සරළකරලා, පුළුවන් තරමක් මුල ඉඳලා කියන්න උත්සාහවත් වෙන්නේ).

අපි හැම වේලාවකදීම, ඇහැ පැත්තෙන් තියෙන දේට, හිතේ තියෙන ටික විදිනවා. හිතේ තියෙන ටික විඳ විඳ, ඒ දේ එලියේ තියෙනවා කියලා, හැම වේලාවකදීම, රැස්කරගන්නවා. මෙතන ඇත්තටම තියෙන්නේ, ආචයගාමී ප්‍රතිපදාවක්. ආචයගාමී කියලා කියන්නේ, රැස්කරගන්නවා කියන එක.

අපට සැප විඳින්න පුළුවන්, දුක් විඳින්න පුළුවන්කම අද ලෝකයේ තියෙන්නේ, ඔන්න ඔය රැස්කරගන්න ක්‍රමවේදයත් එක්ක. අපි ගොඩාක් රැස්කරගන්නවා. හම්බවෙන හැමදේම, අර කොල කෑලි ඇහිඳ ඇහිඳ යන පිස්සු කෙනා වගේම, හැම මොහොතකදීම, හැම දෙයක්ම, අපිත් රැස්කරගන්නවා.

දැන් ඔයගොල්ලෝ, මෙතෙන්ට එන්න කලින් මාව රැස්කරගෙන හිටියේ නැහැ. දැන් රැස්කරගත්තා. ඒකට කියනවා, ***සඞ්ඛාරය*** කියලා. සඞ්ඛාරය කියන වචනයට පරියාය වචනයක් තමයි කුණුගොඩ කියන්නේ. ඉතින් ඒක ගැලපෙනවා ගානටම. කුණු ගොඩාක් රැස්කරනවා.

දැන් මේ හාමුදුරුවෝ ඉන්නවා කියලා, ඔයගොල්ලෝ රැස්කරගත්තා. දෙවනි දවසේ ඔයගොල්ලොන්ට මාව හම්බවෙනවා කොහේ හරි පාරක ඉන්නවා. දැන් ඉන්නකොට, ඔයගොල්ලොන්ට මොකක්ද හම්බවෙන්නේ? එකවරම හිතට එන්නේ, එදා බන කියපු හාමුදුරුවෝ. දැන් එදා බන කියපු හාමුදුරුවෝ නම් පාර අයිනේ ඉන්නේ, ඔය රූපය දකින ඔක්කෝටම හිතෙන්න ඕන, එදා බන කියපු හාමුදුරුවෝ කියලා.

ඇත්තටම, බන කියපු හාමුදුරුවෝ අයිතිවුනේ, කෙනා කෙනාගේ හිත පැත්තට විතරයි. හැබැයි, හිතේ තියෙන ඔය ගතිය, රැස්කරගෙන තිබුනු ඒක, ටක්ගාලා, එලියේ පැත්තට දාලා, හිතෙන්ම බලනවා, ආ මේ ඉන්නේ බන කියපු හාමුදුරුවෝ කියලා. දැන් ආපහු සැරයක් අරගෙන ආයෙත් කුණු ගොඩෙන්.

ඊටපසස්සේ තුන්වෙනි දවසේ, ඔයගොල්ලොන්ට ආරණ්‍යයට යනකොට, ආයිත් දකින්න හම්බවෙනවා. එදා බන කියපු, අර පාර අයිනේ හිටපු හාමුදුරුවෝ, මෙන්න ආරණ්‍යයේත් ඉන්නවා. දැන්, රැස්කරගත්තා.

දැන් හැම වේලාවකදීම, රූපය පැත්ත, රැස්කරගැනීමේ ප්‍රතිපදාවක ජීවත්වෙනවා. හැම මොහොතේම රැස්කරගෙන. අන්න ඔය රැස්කරගෙන යන ආචයගාමී ප්‍රතිපදාවට, බුදුරජාණන්වහන්සේ කිව්වා, ඕක වැරදියි. ඕක පොඩ්ඩක් අපචයගාමී කරගන්න. පොඩ්ඩක් අනිත් පැත්තට කරකවන්න.

ඔතන තියෙන යථාභූත ස්වභාවය පිළිබඳව දකින්න. ඇත්ත ඇති හැටියට දකින්න. හැම වේලාවකදීම, දැනගන්නේ, තමන්ගේ හිතේ තියෙන ටික කියන ලක්ෂණයට හොඳ නුවණක් තියාගන්න.

බයවෙන්න එපා, ඒකෙන් කිව්වේ, මේ මොකක්වත් මතක නැතිවෙනවා කියලා එහෙම නෙවෙයි. මොකක්වත් දැක්කාට මතක්වෙන්නේ නැහැ කියන එකක් එහෙම නෙවෙයි. නැත්නම්, මානසික රෝගයකුත් තියෙනවා නේ අමතකවෙන. එතකොට, ඒ අය ඔක්කෝටම කලින් නිවන් දකින්න වෙනවා. එහෙම එකක් නෙවෙයි මේ කියන්නේ.

මේ කිව්වේ අමතක වෙනවා කියන එක නෙවෙයි. හිතම විඳිනකොට, හිත විඳිනබව ගැන දැනගෙන, එයාට එළඹ සිටි නුවණක් තියෙනවා. හිතම විඳින එයා, හිතේ ලක්ෂණ ටික එලියට දාලා බලන්නේ නැහැ. අද අපට තියෙන ප්‍රශ්නය තමයි, හිතේ ජීවත්වෙන කෙනා විඳිනවා. අපි ඇත්තටම හිතනවා, එලියේ ඉන්නා කෙනාත් එක්ක තමයි මේ ගනුදෙනුව කරන්නේ කියලා.

අන්න ඒ මෝඩකම දුරුවෙන විදියේ දැක්මක් දකින්න වෙනවා. ඒ දැක්මට, අපට විශිෂ්ඨ නුවණක්, ඥාන දර්ශනයක් පවත්වන්න වෙනවා. ඒ ඥාන දර්ශනය ප්‍රායෝගිකව, අපේ ජීවිතයේ අද දවසේදී අපි ආරම්භකරන්න වෙනවා. ඒක තමයි නිවන් දකින ප්‍රතිපදාව කියලා කියන්නේ. ඒක අපට ප්‍රත්‍යක්ෂවෙන්න වෙනවා. වඩාගෙන යනකොට, දියුණු කරනකොට, අප තුළ වැඩෙනබව, අපට පේන්න ඕන. මේක බොහොම ප්‍රායෝගිකයි.

වෙනදා කෙනෙක් බනිනකොට, අපි දුක හදාගන්නකොට, ඇත්තටම අපි දුක හදාගන්නේ අපේම හිත ගැන හිත හිතානේද කියලා අපි බැලුවොත්, අපට ඒ ගැන දුක් නොවී ඉන්න පුළුවන් මනසක් අප තුළම හැදෙනවා.

එතකොට, අපට ලොකු විශිෂ්ඨ නුවණක් ඒ තුළ තවත් ඇතිකරගන්න පුළුවන්කම තියෙනවා. මොකද? අපි හැම වේලාවකදීම, රැස්කරගන්නවා කිව්වාහම, ඒ රැස්කරගන්නේ, අපි හිතාගෙන ඉන්නේ, එළියේ තියෙන දේවල් තමයි අපි ඔක්කොම රැස්කරගන්නේ කියලා. ඇත්තටම අපි රැස්කරගැනීම තුළ පෝෂණය කරගන්නේ, මේ පැත්තෙන් තමන්ව.

දැන් හිතන්නකෝ, අපි අම්මා ගැන හිතනවා. අපි අම්මා ගැන හිතනකොට, ඔය අම්මා ගැන හිතන හිතේ, තමන් වුනේ කවුද?

අම්මා ගැන හිතනවා කියන තැන, රූප උපාදානස්කන්ධයක්, වේදනා උපාදානස්කන්ධයක්, සඤ්ඤා උපාදානස්කන්ධයක්, සඞ්ඛාර උපාදානස්කන්ධයක්, විඤ්ඤාණ උපාදානස්කන්ධයක් කියන මේ උපාදානස්කන්ධ පඤ්චකයක්, පඤ්චඋපාදානස්කන්ධයක්, තියෙනවා.

ඔය උපාදානස්කන්ධ පඤ්චකයේ, තමන්වුනු ස්කන්ධයක් කියලා වෙනම එකක් නැහැ නේ. දැන් අම්මා කියන තැන තියෙන්නේත් පඤ්චඋපාදානස්කන්ධයක්. ඔය පඤ්චඋපාදානස්කන්ධයේ, තමන් වූ ස්කන්ධයක් වෙනම තියෙනවාද? තමන්වූ ස්කන්ධ වෙනම ඇත්තේ නැහැ. ඔය පඤ්චඋපාදානස්කන්ධයම නෙවෙයිද තමන් වුනේත්? එතකොට, ඒ ස්කන්ධ පඤ්චකයම නෙවෙයිද අම්මා වුනේත්?

**ඒ ස්කන්ධ පඤ්චකයම එක පැත්තකින් බලනකොට අම්මාවෙලා, තව පැත්තකින් බලනකොට තමන්ව නියෝජනය කරලා. මේක හරියට එකම කාසියේ දෙපැත්ත වගේ.**

දැන් ප්‍රශ්නය තියෙන්නේ, එක පැත්තක් මට පේන්න බැහැ කියලා මම මිටියක් අරගෙන, මට පේන්න බැරි පැත්තට ගැහුවොත් මොකද වෙන්නේ? අනිත් පැත්තත් නිකම්ම තැලෙනවා.

ඒ වගේ, අපි ලෝකේ තරහාගන්නේ, මට පේන්න බැරි, මම අකමැති මනුස්සයෙක් එක්ක. හැබැයි ඔය අකමැති මනුස්සයා හදපු ස්කන්ධ පඤ්චකයම තමයි තමන් වුනේත්, ඒ වේලාවේදී. තමන්ව නියෝජනය කළේත්, ඒ ස්කන්ධ පඤ්චකයම තමයි.

දැන් ඇත්තටම තව කෙනෙකුට අකමැතියි කිවුවාට, යථාතීයක් විදියට අපි අකමැතිවෙලා තියෙන්නේ, තමන්ට. දැන් විපාකය තමන් කරා එන එක අහන්න දෙයක් නෙවෙයිද? ඇයි තමන්වූ ස්කන්ධ ටිකටනේ අපි අකමැතිවෙලා තියෙන්නේ. ගැටිලා තියෙන්නේ තමන්වූ ස්කන්ධ ටිකක් එක්ක නේ.

ඕක තමයි අපායේ ගියත් මිදෙන්නේ නැත්තේ. අපායට ගියත් ගින්දරට නම් අකමැතියි. හැබැයි ඔය ගින්දර හදලා දෙන තමන් වූ ස්කන්ධ ටිකට? ඒ ටික පවත්වාගන්න කැමතියි. ස්කන්ධ ටිකට කැමතියි. ගින්දරට අකමැතියි. ඉතින් ගින්දරට අකමැතිවුනා කියන එක පදනමක් නෙවෙයි, ස්කන්ධ ටික පවත්වන්න කැමති නම් ආපහු එතනම උපදිනවා. අපායේ ගියත් මිදෙන්නේ නම් නැහැ.

ඒක නිසා, අද අපට ප්‍රශ්නය තියෙන්නේ, අපි ඇසුරු කරන්නේ, හැම වේලාවකදීම, මේ තමන් කරගත්ත ස්කන්ධ ටිකක්. ඔය ස්කන්ධ ටිකක් තුළ ජීවත්වෙනකොට, අපට ඔය ගැන අවබෝධයක් නැතිකම නිසා, අපට බාහිර භෞතික ලෝකයක් ඇතිබවට හදලා දීලා තියෙනවා.

ඔතන බොහෝම ගැඹුරු සිද්ධියක් තියෙනවා. අපි තේරුම්ගන්න ටිකක් උත්සාහවත්වෙමු.

**ස්කන්ධ සහ උපාදානස්කන්ධ කියලා කොටස් දෙකක් තියෙනවා. ස්කන්ධ කියලා කියනවා යථාභූත ස්වභාවයට. උපාදානස්කන්ධ කියලා කියනවා, අපි හදාගෙන විඳින ස්වභාවයට**.

**ස්කන්ධ ටික, රූප ස්කන්ධය, වේදනා ස්කන්ධය, සඤ්ඤා ස්කන්ධය, සඞ්ඛාර ස්කන්ධය, විඤ්ඤාණ ස්කන්ධය. ඔය ස්කන්ධ ටිකේදී අම්මා හැදිලා නැහැ.**

**රූපස්කන්ධය කියනකොට, රූපස්කන්ධයේදී අම්මා වූ රූප නැහැ. '*චත්තාරෝච මහා භූතා, චත්තුන්නංච මහා භූතානං උපාදාය රූපං*' - සතර මහා ධාතුවත්, සතර මහා ධාතුව නිසා, පවත්නා වර්ණ, ගන්ධ, රස, ඕජා කියන මේ උපාදාය රූප ටිකත්. දැන් ඇහැට නම්, ඇහැට ගැටෙන වර්ණ සටහන. එතකොට, ඔන්න ඒ රූපස්කන්ධය.**

**වේදනා ස්කන්ධය තමයි, ඇහැ බිඳුනු ලක්ෂණය විඳිනවා. අම්මා කියලා හඳුනාගෙන, අම්මා කියලා සතුටුවෙන සැප සහගත වේදනාව නෙවෙයි, ඇහැ බිඳුනා කියලා, ඇහැ බිඳුනුබවේ වේදනාව, විඳීම කියනා දේ, විඳිනවා. ඒකට කියනවා, වේදනා ස්කන්ධයක්,**

නැතිනම් ඕකට කියනවා තව වචනයකින්, විපාක ධර්මතා කියලා.

ඊටපස්සේ, ඇහැ බිඳුනුබවට තියෙන සඤ්ඤාව, ඒ වගේම ඇහැ බිඳුනුබව ගැන හිතනාකම, ඇහැ බිඳුනුබව ගැන දැනගන්නාකම.

ඔය ටිකට කියනවා, පඤ්චස්කන්ධ කියලා, ස්කන්ධ ටික. ඔය ස්කන්ධ ටික ඇති තැනක, උපාදානස්කන්ධය කෙනා කෙනා හදාගන්නා එක. එතනදී, අපි දෙවනිපාර කල්පනාකරනවා, දැන් දැනගත්තා නේ දෙයක්. දැන ගත්ත දේ තියෙන්නේ මොහොකද? ආශ්‍රව ටික ඇසුරුකරලා, හිතලා බලනවා. හිතලා බලනකොට, “අම්මා“ කියන රූපය හම්බවෙනවා,

දැන් අම්මා කියනබව විඳින්න පුළුවන්කම තියෙනවා, හඳුනාගන්න පුළුවන්කම තියෙනවා, හිතන්න පුළුවන්කම තියෙනවා, දැනගන්න පුළුවන්කම තියෙනවා. මේ ටික බෙදන්න බැහැ. එකටම තියෙන්නේ. වේදනාව ඉස්සරවෙලා, සඤ්ඤාව පස්සේ, සඞ්ඛාරය ඊටපස්සේ, විඤ්ඤාණය ඊටත් පස්සේ කියලා බෙදන්න බැහැ. එකටමයි තියෙන්නේ.

හැබැයි, ප්‍රශ්නය තියෙන්නේ, ඔතන ස්කන්ධ 4 යි කතාකළේ, වේදනා, සඤ්ඤා, සඞ්ඛාර, විඤ්ඤාණ. අම්මාව විඳිනාකම, අම්මාව හඳුනනාකම, අම්මාව හිතනාකම, අම්මාව දැනගන්නාකම. එතකොට, ස්කන්ධ 4 යි.

හැබැයි ඔය ස්කන්ධ 4 න්ම නියෝජනය කරනවා, අම්මා වූ රූපයක්. ඒක එලියේ තියෙන රූපය නෙවෙයි. මනස තුළ උපදවාගත්ත, මනසින් හදාගත්ත රූපය. අර රූපස්කන්ධය ඉතුරු නැතුව ඇහැ රූප දෙක වැයවෙලා නිරුද්ධවුනු තැනක, හිතෙන් හදාගන්නා වූ අම්මා වූ රූපය. ඒකට කියනවා, "රූප උපාදානස්කන්ධය" කියලා.

රූප උපාදානස්කන්ධය, එලියෙන් පනවන්නේ නැහැ. රූප උපාදානස්කන්ධය හැම වේලාවකදීම, මනස තුළ හදාගන්නා එක.

උපාදානස්කන්ධ පඤ්චකය ආධ්‍යාත්මික පැත්තෙන් පෙන්වන්න වෙන්නේ, මනස පැත්තෙන්. රූපස්කන්ධය නම් එලියේ කතා කළාට කමක් නැහැ, සතර මහා ධාතු සහ වර්ණ ගන්ධ රස ඕජා කියන ටික. හැබැයි, රූප උපාදානස්කන්ධය කියනකොට කතාකරන්න වෙන්නේ, හිතෙන් හදලාදෙන, අම්මා, ගස්, ගල්, යාන වාහන, කියලා දැනගන්න මට්ටමට එනකොට. එතකොට දැන් දැනගෙන තියෙන්නේ රූපයක් ගැන. එතකොට, ඔන්න ඔය මට්ටමට කියනවා පඤ්ච උපාදානස්කන්ධය කියලා.

දැන් ප්‍රශ්නෙ තියෙන්නේ ස්කන්ධ ටිකේ නෙවෙයි. ප්‍රශ්නය තියෙන්නේ උපාදානස්කන්ධ පඤ්චකයේ. ඇයි? මේ ස්කන්ධ ටික පෙන්වන්නේ නැතුව, අම්මාව පෙන්වන බව. ඇහැ ඉතුරු නැතුව නිරුද්ධවුනා. ඇහැ නිරුද්ධවුනා කියලා දකින්නේ නැතිකම නිසා, අම්මා එලියේ ඉන්නවා කියලා අපි දැනගත්තා.

**දැන් එළියේ ඉන්නා අම්මාට තමයි අපි ආදරේ කරන්නේ. එළියේ ඉන්නා අම්මාට තමයි අපි ඇලෙන්නේ, බැඳෙන්නේ, ගැටෙන්නේ. එතකොට, එළියේ තියෙනවා කියලා හිතනාකම නිසා තමයි, අපට සියළුම කෙලෙස් ටික පවත්වන්න හේතුව හැදිලා තියෙන්නේ.**

**ඔන්න බුදුරජාණන්වහන්සේ, ඔය වගේ මනසක ජීවත්වෙන අපට, ඔතනින් මිදෙන්න, අනිත්‍යය අනුව බලන්න, දුක අනුව බලන්න, අනාත්මය අනුව බලන්න කියලා, ත්‍රිලක්ෂණයක් පෙන්නුවා.**

දැන් අද සමාජයේ තියෙන ලොකු ප්‍රශ්නයක් තමයි, "අනිත්‍ය" ද, "අනිච්ඡ" ද කියන එක.

කෙනෙක් කියනවා, ***"න ඉච්ඡ"*** කියලා කැමති නොවෙන, ආශ්වාදය ඉෂ්ඨ නොකරන අර්ථයෙන්, ***"අනිච්ඡ"*** කියනවා කියලා.

කෙනෙක් කියනවා, නැහැ "අනිත්‍ය" කියලා.

දැන් ඇත්තටම මොකක්ද හරි?

මේකෙන් දුරුවෙන කෙලේසයත් එක්කම බැලුවොත් ඔය ප්‍රශ්නය විසඳාගන්න පුළුවන්කම තියෙනවා.

දැන් අපි හිතමු, අම්මා කියන රූපය "**අනිච්ඡයි**", අපට කවදාවත් ආශ්වාදය ඉෂ්ඨ කරන්නේ නැහැ කියලා අපි දැක්කා කියලා. හැබැයි, ආශ්වාදය ඉෂ්ඨකරන්නේ නැති අම්මා එළියේ නැද්ද? එළියේ ඉන්නවා. අම්මා එළියේ ඉන්නකම්, ඔය අම්මාව දකින තමන් මෙහේ නැද්ද? තමන් මෙහේ ඉන්නවා.

දැන් ඔය ඇහෙන් ආශ්වාදය ඉෂ්ඨකරන්නේ නැහැ කියලා ඔය රූපය බලලා කියන තැන, ඔය ඇහැ අයිතිකාරයාත්, ඔය අම්මාව බලන කෙනාත් මේ පැත්තේ ඉන්නවා, අම්මාත් එලියේ ඉන්නවා. මිදෙන්න පුළුවන්වෙයිද? තමනුත් මේ පැත්තේ ඉන්නවා නම්, බලන්න එලියේ දේවලුත් තියෙනවා නම්, මිදෙන්න නම් පුළුවන්කමක් ඇත්තේ නැහැ.

ඒක නිසා, බුදුරජාණන්වහන්සේ '**අනිත්‍යයි**' කියලා කිව්වේ, බොහෝම පරම ගැඹුරු අර්ථයකින්. ලොකු නුවණකින්. ඒක මේ සාමාන්‍ය නුවණකින් දකින්න පුළුවන් දෙයක් නෙවෙයි.

අද ඔය වගේ ලාමක තකී ගොඩාක් වෙලාවට ඉදිරිපත්වෙන්නේ, අපේ සමාජය තුළත් මුල් බැසගෙන තියෙන වැරදි දැකීම නිසා. අපිත් ගොඩාක් වෙලාවට අනිත්‍යයක් හඳුනනවා. බොහෝ දෙනෙක් හිතාගෙන ඉන්නේ, මේ කැඩිලා බිඳිලා විනාශවෙලා යන එක තමයි අනිත්‍යය කියලා. නැතිවෙලා යන එක අනිත්‍යය කියලා. ඒකත් අනිත්‍යයක් තමයි. ඒකට අනිත්‍යයි කියනවාට වඩා, ඒක ඇති දේක නැතිවෙන බව.

අර ලංකාවට ලොකු ගංවතුරක් ආපු වෙලාවක, එක මහත්මයෙක් මට කියනවා, ස්වාමීන්වහන්ස, "අනිත්‍යය" කියන එක ඇස්පනාපිට පේන්න තියෙනවා කියලා. හොඳට තිබුනු ගෙවල් දැන් කැඩිලා බිඳිලා විනාසවෙලා කියලා.

මම ඒ වේලාවේදී කල්පනා කළා, මෙතන මොකක්ද තියෙන අනිත්‍යය කියලා. දැන් ඇත්තටම තියෙන්නේ නැතිවෙච්ච බවක් සහ නිත්‍ය සඤ්ඤාවක්. එච්චරයි. දැන් මොන ගේද, ඔය කැඩිලා බිඳිලා තියෙන්නේ? හොඳට තිබුනු

ගේ. දැන් හොඳට තිබුනු ගේ, නිත්‍ය නැද්ද? හොඳට තිබුනු ගේ, එලියේ තිබුනු ගෙදරක්. ඒ වගේම, ඒ ගෙදරම තමයි දැන් මේ විදියට තියෙන්නේ.

ඔය අනිත්‍යය තුළ, එලියේ ගෙදර තියෙනවා. තියෙන ගෙදර දැන් වෙනස්වෙලා. ඒ වගේම ඔය අනිත්‍යය විඳින කෙනා, අර හොඳට තිබුනු ගෙවල් කලින් දැකපු කෙනා, මේ පැත්තේ ඉන්නවා. දැන් තියෙන ගේ දකින කෙනාත් මේ පැත්තේ ඉන්නවා.

ඉස්සර ඉඳලා පැවතගෙන එන මාත් ඉන්නවා. ඒ වගේම, ඉස්සර ඉඳලා හොඳට තිබුනු ගෙවල් වෙනස් වෙලාත් තියෙනවා.

දැන් සම්පූර්ණයෙන්ම පුද්ගලබව මත දුවන අනිත්‍යයක්. ඔය අනිත්‍යය නිවන් දකින්න පුළුවන් අනිත්‍යයක් එහෙම නෙවෙයි.

ඒකයි, ඔය රූප කලාප කැඩි කැඩී, බිඳි බිඳී යනවා, ක්ෂණයක් පාසා වෙනස්වෙනවා කියලා බැලුවත්, ඒක අනිත්‍ය නෙවෙයි කියලා කියන්නේ. ඔය රූප කලාප වෙනස්වෙන රූපය තියෙනවා නේ. ඒ රූප කලාප වෙනස්වන දේ දකින කෙනා, මේ පැත්තෙන් ඉන්නවා නේ.

අන්න එතකන් ඔය පුද්ගලබව දුරු කරගන්න නිවන නම් දකින්න වෙන්නේ නැහැ. ඒක නිසා, අපට අනිත්‍යය කියලා සමාජයේ මුල් බැසගත්ත ඔය වැරදි රූපය හේතුවෙනවා, අර වගේ ලාමක තර්ක ඉදිරිපත් කරන්න. නෑ, ඕක නෙවෙයි අනිත්‍ය කියලා, බොහොම සහේතුක තර්ක ඉදිරිපත් කරනවා ඕකට.

දැන් ගොඩාක් දෙනෙක් ඉදිරිපත් කරන තර්කයක් තමයි, දැන් ඔළුවේ කැක්කුමක් තියෙනවා. ඔළුවේ කැක්කුම අනිත්‍ය

වෙනවා. දැන් බුදුරජාණන්වහන්සේ දේශනාකරනවා, යමක් අනිත්‍යයි නම් එය දුකයි කියලා. ***'යද නිච්චං තං දුක්ඛං'***, යමක් අනිත්‍ය නම් එය දුකයි කියලා දේශනා කරනවා. දැන් ඔළුවේ කැක්කුම තියෙනවා, ඔළුවේ කැක්කුම අනිත්‍ය නම් සැපද දුකද? දැන් සැපයි.

අපායේ දුක තියෙනවා. අපායේ දුක අනිත්‍ය වෙනවා. දැන් සැපද, දුකද? දැන් සැපයි.

එතකොට, අපි යම් කටයුත්තක් කරගෙන යනකොට, අල්ලපු ගෙදර මනුස්සයා අපට ගොඩාක් කරදර කරනවා, හරි පීඩාවක් තියෙනවා. ඒ මනුස්සයා මැරෙනවා, අනිත්‍යවෙලා යනවා. දැන් සැපද, දුකද? දැන් හොඳයි, සැපයි.

දැන් එතකොට, බුදුරජාණන්වහන්සේ කිව්වා අනිත්‍ය නම් එතන දුකයි කියලා, දැන් මේ අනිත්‍යවෙන දේ දුක්වෙලා නැහැ නේ, සැප නේ, කියලා තමන්ගේ අර්ථය දෙනවා, අනිත්‍ය නිසා දුක එනවා කියලා බුදුරජාණන්වහන්සේ දේශනා කළේ මේ ආශ්වාදය ඉෂ්ඨකරන්නේ නැතිවෙනකොට දුක එනවා කියලා, දැන් කාටත් සරළවම තේරුම්ගන්න පුළුවන්. 'න ඉච්ඡ, අනිච්ඡ' කියලා දැන් ඔය අර්ථය කිවවාහම කාටත් තේරුම්ගන්න පුළුවන්.

**හැබැයි, ඔය අර්ථ විග්‍රය තුළ, බුදුරජාණන්වහන්සේ දේශනා කළ අනිත්‍ය කියන එකේ තියෙන ගැඹුරු අර්ථය, යමක් සඳහා නම්, යම් කෙලේසයක් ආශ්‍රවයක් දුරුකරගන්න නම් ඒක පෙන්නුවේ, ඒක පැත්තකටම විසිවෙලා ගිහිල්ලා ඉවරයි.**

**අනිත්‍ය කිව්වේ ඔතන දකින්න නෙවෙයි. අනිත්‍ය කිව්වේ පුද්ගලබව දුරුකරගන්න පෙන්නපු, විමුක්ති මුඛයකට යන්න පෙන්වපු ත්‍රිලක්ෂණයක්. ඒ අනිත්‍යය කිව්වේ මේ කැඩිලා බිඳිලා විනාසවෙලා යන එකවත්, ඔළුවේ කැක්කුම, බඩේ කැක්කුම අනිත්‍යවෙන එකවත්, නෙවෙයි.**

ඔක ටිකක් තර්කානුකූලව විමසන කෙනෙකුට නම් ඔක ඔච්චර දුර අරගෙන යන්න දේකුත් නැහැ. ඔක කියපු ගමන්ම ඔයගොල්ලොන්ට හිතෙන්නේ ඔළුවේ කැක්කුම හොඳවෙන එක සැපයි කියලා නේ. හොඳයි, ඔළුවේ කැක්කුම හොඳවෙන එකද සැපවුනේ? ඔයගොල්ලොන්ට ඔළුවේ කැක්කුම දැන් නැහැ නේ, ඒ සැප ඔයගොල්ලෝ විඳිනවාද? ඔළුවේ කැක්කුම නැතිවීමේ සැප මම නම් විඳින්නේ නැහැ. මම දන්නේ නැහැ අනිත් අය විඳිනවාද කියලා. මම හිතනවා, කවුරුවත් ඔළුවේ කැක්කුම නැතිවීමේ සැප විඳින්නේ නැහැ කියලා.

ඔයගොල්ලෝ තුවාලය හොඳවීමේ සැප විඳිනවාද? කවුරුවත් විඳින්නේ නැහැ. තුවලය නිසා දුක් විඳින්න පුළුවන්. හැබැයි, තුවාලය හොඳවීම නිසා, සැප විඳින්න බැහැ. අපාය දුක නිසා දුක් විඳින්න පුළුවන්. හැබැයි, අපාය දුක නැතිවීම නිසා, ඔයගොල්ලන්ට සැප විඳින්න බැහැ.

මනුස්ස ලෝකේ සැප ලැබීම නිසා, ඔයගොල්ලෝ සැප විඳින්න පුළුවන්වෙයි. හැබැයි, අපායේ දුක නැතිවීම නිසා, ඔයගොල්ලන්ට සැප විඳින්න බැහැ. තර්කානුකූලව හිතන කෙනෙකුට එතනින්ම ඔක ඉවරයක් කරගන්නත් පුළුවන්. නමුත්, ඔතන ඇත්තටම ප්‍රශ්නයක් නැගිය යුතු තැනත් නෙවෙයි.

බුදුරජාණන්වහන්සේ, අනිත්‍ය කියන තැන කතාකළේ බොහොම ගැඹුරු අර්ථයකින්.

දැන් අපි ලොකු දර්ශනයක් කතාකළා නේ මෙතන. ඇහැ කියන එකට පුළුවන්කම තිබුනේ වර්ණ සටහනක් පතිත කරගන්න. ඇහැට වර්ණ සටහනක් පතිතවෙලා, ඇහැ ඉතුරු නැතුව නිරුද්ධවුනු තැනක, නැතිවුනු තැනක, තමයි අපි මේ පැත්තේ දැහැත් වර්ටිය හදාගත්තේ කියන එකක් අපි කතා කළා. දැන් බුදුරජාණන්වහන්සේ කතා කළේ ඇහේ අනිත්‍යයක්. රූපයේ අනිත්‍යයක්. ඇහැ සහ වර්ණ සටහන කියන දේ ඉතුරු නැතුව නිරුද්ධවුනු තැනක, දැහැත් වර්ටිය කියන දේ මේ පැත්තේ හදාගත්තේ.

දැන් මේ අනිත්‍යය කෙනෙක් සාක්ෂාත් කළොත්, මේ අනිත්‍යය, එක් ක්ෂණිකව මේ මොහොතේ, සාක්ෂාත් කළොත්, එයාට එලියේ දැහැත්වර්ටි හම්බවෙන්නේ නැහැ. දැන් මේ ආශ්වාදය ඉෂ්ඨ කරන්නත්, නැති වෙන්නත්, එලියේ දැහැත් වර්ටියකුත් නැත්නම්, ඒ චිත්ත චෛතසික ටික ඉතුරු නැතුවම නිරුද්ධවෙනවා කියලා මෙතනම අනිත්‍යය සාක්ෂාත් කරනකොට පුද්ගලබව පනවන්න තැනකුත් නැත්නම්, දැන් අන්න එතනයි අනිත්‍යය කතා කළේ. ඒක බොහොම සියුම්. ඒකට ලොකු නුවණක් ඕන තේරුම්ගන්න.

සාමාන්‍යයෙන් අපේ මෝඩකම අස්සට ඒ නුවණ ඇතිවෙන්නේ නැහැ. ඒක විමසලා බලන්න ඕන. ප්‍රඥාවෙන් විමසනකොට තමයි ඒ අනිත්‍යය කියන එක මතුකරගන්න පුළුවන් වෙන්නේ.

මොකද, බුදුරජාණන්වහන්සේ දේශනාකරන්න ගියේ නැහැ, මහණෙනි ජේතවනාරාමය නිත්‍යද, අනිත්‍යද? මේ ගස්

වැල් නිත්‍යද අනිත්‍යද? මනුස්සයෝ නිත්‍යද අනිත්‍යද? එහෙම ඇහුවේ නැහැ.

බුදුරජාණන්වහන්සේ ඇහුවේ, මහණෙනි, ඇහැ නිත්‍යද අනිත්‍යද? එතකොට, ධම්මසඞ්ගණීප්‍රකරණයේ ඇහැ ගැන විස්තර කරනකොට කියනවා, රූපෙන් තොරව ඇහැත් නැහැ, ඇහෙන් තොරව රූපෙත් නැහැ කියලා. එතකොට, මේ මොහොතේ, පෙර නොතිබීම හටගෙන ඉතුරු නැතුව නිරුද්ධවෙන තැනක් ගැන මේ කතාකරන්නේ.

එතකොට, මේ මොහොතේ හටගෙන නිරුද්ධවුනු මේ අනිත්‍යය කියන දේ දැක්කා නම්, එයාට ආයිත් ඇති හැටියට ගන්න දෙයක් හම්බවෙන්නේ නැහැ. කිසිම ආයතනයකින් නිමිති හැටියට එයාට ගන්න දෙයක් හම්බවෙන්නේ නැහැ. ආශ්වාදය ඉෂ්ඨකරන්නේ නැහැ කියලා දකින්නවත් එලියේ දෙයක් හම්බවෙන්නේවත්, ආශ්වාදය විඳින්න කෙනෙක් හම්බවෙන්නේවත් නැහැ.

ඒ තරම් ගැඹුරු තැනකින් අනිත්‍යය කියන දේ කතා කළේ.

කොටින්ම, ඒ කෙනා තුවාලේ හොඳවීමෙන් එන සැප විඳින්න නියා, එයාට තුවාලෙන් එන දුක විඳින්න හම්බවෙන්නේත් නැතිවෙලා. කොටින්ම, ඔළුවේ කැක්කුමක් ගැන කතාකරන්න දේකුත් නැහැ. මොකද, එයාට එක දිගට තිබුනු ඔළුවක් හෝ එක දිගට තිබුනු ඔළුවේ කැක්කුමක් හම්බවෙලාත් නැහැ. ඒක විඳින්නේ අපේ කෙලේසයට.

දැන් අපි කියනවා, මට පැයක් තිස්සේ, ඕළුව රිදෙනවා කියලා. ඇත්තටම, කවුද පැයක් තිස්සේ ඔළුවේ කැක්කුම විඳින කෙනා?

දැන් මේ මොහොතේ, ඔයගොල්ලෝ, පැයක් තිස්සේ ඔළුවේ කැක්කුම විඳිනවාද? මේ මොහොතේ ස්ඵශී ප්‍රත්‍යයෙන් හටගෙන, ඉතුරු නැතුව නිරුද්ධවෙන කාය සම්ඵස්සය නිසා හටගත්ත ඔළුවේ කැක්කුම විඳිනකොට, ඔයගොල්ලෝ "පැය ගනන" හිතින් දාගන්නවා. පැයේ ඔළුවේ කැක්කුම, ඔයගොල්ලෝ හිතෙන් දාගන්නා දේ. ඔළුවේ කැක්කුම ඇත්තටම විඳින්නේ මේ මොහොතේ, මේ ස්ඵශී ප්‍රත්‍යයෙන්, ස්ඵශීවෙන මොහොතේදී විතරයි. ඒ වුනාට පැයක් තිස්සේ එක දිගටම මගේ ඔළුව රිදෙනවා කියනවා.

දැන් ඔය පැයක් තිස්සේ තියෙන ඔළුවේ කැක්කුම කෙළෙස් ටිකෙන් හදාගන්න එක.

එතකොට, දැන් අපට හැම වේලාවකදීම, ඔය ඔළුවේ කැක්කුම හොඳවීමේ, අනිත්‍යවීමේ සැප විඳින්න වෙන්නේත්, ඔය එක දිගට තිබුනු ඔළුවක් සහ එක දිගට තිබුනු කැක්කුමක් හම්බවුනොත්.

හැබැයි, අපට එක දිගට තිබුනු දෙයක් පනවන්න තැනක් නැත්නම්, හේතු ඵල නිරෝධයක් හම්බවෙලා නම්, ඒ ඒ තැන? ඒ කෙනාට පැයක් තිස්සේ තිබුනු ඔළුවේ කැක්කුම විඳින්න අවස්ථාවක් නැතිවෙලා.

ඔය කාරණාව විස්තරකරන්න පුළුවන්, මෙහෙම උදාහරණයක් කිව්වොත්. දැන් පහණක් පත්තුවෙනවා. පහන පත්තුවෙනකොට, මේ තත්පරයේ තියෙන තෙල් ටිකත්, තිරයත්, දැල්ලත් නිසා අපට මේ එළිය පේනවා. ඊළඟ තත්පරයේදී, තියෙන්නේ ඊට කලින් තත්පරයේ තිබුනු තෙල් ටිකද? නැහැ. කලින් තත්පරයේ තිබුනු තිරයද? නැහැ. කලින් තත්පරයේ තිබුනු දැල්ලද? නැහැ, අලුතෙන්මයි ඊළඟ

තත්පරයට යනකොට, හේතු සකස්වුනේ. පහන පත්තුවෙනවා කියලා කියන්නේ, අලුතෙන්ම හේතු ටික සකස්වෙනකොට.

දැන් අපි කියනවා, පහන නිවුනා කියලා. දැන් මට කියන්න, කොයි තත්පරයේ තිබුනු පහනද ඔය නිවුනේ කියලා. පලවෙනි තත්පරයේ තිබුනු තෙලුත්, තිරයත්, දැල්ලත් නෙවෙයි නම් දෙවනි තත්පරයට ගියේ, දෙවනි තත්පරයේ තිබුනු ටික නෙවෙයි නම් ඊළඟ තත්පරයේ තිබුනේ, දැන් කොයි තත්පරයේ තිබුනු පහනද, ඔබ නිවුනා කියලා කතාකරන්නේ?

කොටින්ම, පහනක් ගැන කතාකරන්න තැනක් නැතිවෙලා. එක දිගට තිබුනු පහනක් නැතිවෙලා. හම්බවෙලා තියෙන්නේ, හේතු ටිකක් ඇති කල්හි තියෙන පහනක් සහ හේතු ටික නැතිවෙනකොට, ඒ තත්පරේදී ඒ වැයවීම තුළම නැතිවූ පහනක්. ඊළඟ තත්පරේ ඒ හේතු ටික ඇතිකල්හි පහනක් ඇතිවෙලා, ඒ හේතු ටික නැතිවෙනකොටම, ඒ මොහොතේම පහන නැතිවෙලා.

***'හේතුං පටිච්ච සම්භූතං හේතු භංගා නිරුජ්ඣති',*** හේතු ඇති කල්හි හටගෙන, හේතු නිරෝධයෙන් නිරුද්ධවෙන ධර්මතාවයක් තමයි අපි කතාකරන තැන.

එතකොට, පහනක නිවීම ගැන කතාකරන්න තැනක් නෑ අපට. ඇයි එක දිගට තිබුනු පහනක් තියෙන්න එපාය, නිවෙන්න නම්.

ඒ වගේ, දැන් අපට ආශ්වාදය ඉෂ්ඨකරනවා හෝ නැහැ කියන්නත්, එක දිගට තිබුනු කෙනෙක් හෝ වස්තුවක් හම්බවෙලා තියෙන්න එපාය. නමුත්, ඒ ඒ මොහොතේ, ඇහැත්

එක්ක හටගෙන, ඇහැ නිරුද්ධ වෙනකොටම නිරුද්ධවෙලා. මේ පැත්තෙන් හිතත් එක්කම හටගෙන හිතත් එක්කම නිරුද්ධවෙලා. ඒ ඒ තැන අනිත්‍යවුනු ධර්මතා ටිකක් නම් තියෙන්නේ, දැන් පුද්ගලබවක් කොහෙන් පනවන්නද? අර එක දිගට තිබුනු පහන කොහෙන් පනවන්නද?

ඕකේදී, **"යමක සූත්‍රයේ"** සඳහන්වෙනවා හොඳ කාරණාවක්.

මම මෙහෙම ප්‍රශ්නයක් ඇහුවොත් ඔබගෙන්? රහතන්වහන්සේ මරනින් මත්තේ උපදිනවාද? නැද්ද?

උපදින්නේ නැහැ.

යමක හාමුදුරුවන්ට ඇතිවෙනවා, මිත්‍යා දෘෂ්ඨියක්. ඒ තමයි, ***"යථා ඛීණාසවෝ භික්ඛු කායස්ස භේදා, උච්ජිජ්ජති බිනස්සති, න හෝති පරං මරණං".*** මේ ඛීනාශ්‍රව භික්ෂූන්වහන්සේ, මරණින් මත්තේ සිඳිලා විනාසවෙනවා. මරණින් මත්තේ උපදින්නේ නැහැ.

දැන් ඔබත් කිව්වා, රහතන්වහන්සේ මරණින් මත්තේ උපදින්නේ නැහැ කියලා. දැන් ඕකම තමයි යමක හාමුදුරුවන්ට ඇතිවුනු මිත්‍යා දෘෂ්ඨියත්.

හාමුදුරුවරු ගිහිල්ලා, මේ මිත්‍යා දෘෂ්ඨිය බිඳින්න කරුණු ඉදිරිපත් කළා. නමුත් යමක හාමුදුරුවෝ පිළිගන්නේ නැහැ. ඊටපස්සේ, මේ හාමුදුරුවරු සැරියුත් තෙරුන්වහන්සේ ළඟට ගිහිල්ලා කිව්වාම, සැරියුත් තෙරුන්වහන්සේ සවස්වෙලා වඩිනවා, යමක හාමුදුරුවෝ මුණගැහෙන්න.

සැරියුත් තෙරුන්වහන්සේ අහනවා, ඇත්තද ඔබ මේ කියන්නේ, රහතන්වහන්සේ මරනින් මත්තේ උපදින්නේ නැහැ කියලා? ඔව් ස්වාමීනි, ඇත්තනේ රහතන්වහන්සේ මරණින් මත්තේ උපදින්න විදියක් නැහැනේ.

සැරියුත් තෙරුන්වහන්සේ කියනවා, හොඳයි, මම ඔබගෙන්ම ප්‍රශ්න අහන්නම්, මට උත්තරදෙන්න කියලා.

ඔබ ඔය රහතන්වහන්සේ කියලා කියන්නේ, රූපස්කන්ධයද? මේ ඇහැට එන වර්ණ සටහනද රහතන්වහන්සේ? නෑ, ඒක නෙවෙයි. ඒ වර්ණ සටහන ඒ මොහොතේ හටගෙන නිරුද්ධවෙන දෙයක්. එතකොට, ඇහැ බිඳුනුබවට තියෙන වේදනාස්කන්ධයද? නෑ, ඒකත් නෙවෙයි. එහෙනම් සඤ්ඤාස්කන්ධයද? නෑ, ඒකත් නෙවෙයි. සඞ්ඛාරස්කන්ධයද? නෑ, ඒකත් නෙවෙයි. විඤ්ඤාණස්කන්ධයද? නෑ, ඒකත් නෙවෙයි.

එහෙනම්, ඔය ටික නැතුව රහතන්වහන්සේ හම්බඋනාද? නෑ, ඔය ටික නැතුව රහතන්වහන්සේත් නැහැ. එහෙනම්, ඒ මොහොතට හටගෙන, ඒ මොහොතේම නිරුද්ධවෙලා ගිය ස්කන්ධ ටික රහතන්වහන්සේ නෙවෙයි නම්, ඒ ටිකෙන් තොරව රහතන්වහන්සේ හම්බවුනේත් නැත්නම්, දැන් ඔය මොන රහතන්වහන්සේද මරණින් මත්තේ නැහැ කියලා කියන්නේ?

දැන් කොයි රහතන්වහන්සේද මරණින් මත්තේ නැහැ කියලා කියන්නේ? දැන් ජීවත්වෙලා හිටපු රහතන්වහන්සේ කෙනෙක් එපාය පෙන්වන්න මරණින් මත්තේ නැහැ කියලා කියන්න. දැන් ජීවත්වුණු රහතන්වහන්සේ නමක් නැත්නම්? ඒ ඒ මොහොතේ හටගෙන නිරුද්ධවුනු හේතුඵල ධර්මතාවයක්

නම් තිබුනේ, ජීවත්වුණු රහතන්වහන්සේ කෙනෙක් ගැන කතාකරන්න තැනක් නැහැ.

එතනින් කියන්නේ, ලොකු අර්ථයක්. ලොකු ගැඹුරු කාරණාවක්. වරද්දගන්න එපා, සම්මුති ඥානය සහ ලෝකොත්තර ඥානය පිළිබඳව. මේ කතාකරන්නේ, නිවන් දකින ප්‍රතිපදාව, නැතිනම්, ලෝකෝත්තර දර්ශනය පිළිබඳව.

ඔය ලෝකෝත්තර දර්ශනය තුළ, සමහර වෙලාවට කෙනෙක් මෝඩලෙස අහලා අදහස් ඇතිකරගෙන තියෙනවා ඇතැම් වෙලාවට, එහෙනම් ***"අට්ඨ පුරිස පුග්ගලා"*** කියලා බුදුරජාණන්වහන්සේ දේශනා කළේ, අට්ඨ පුරිස පුද්ගලයෝ 8 දෙනෙක් ලෝකයේ ඉන්නවා කියලා. එතකොට, ඒ රහතන්වහන්සේලා සහ ආර්‍ය්‍ය ශ්‍රාවකයෝ ලෝකේ නැද්ද? ඒක සම්මුති ඥානය. ඒ කම්මස්සකත සම්මා දිට්ඨිය.

මේ කතාකරන්නේ, ආර්‍ය්‍ය දර්ශනය. නැතිනම් රහතන්වහන්සේ නමක් කියලා අපි කතාකරන තැන, මෙන්න මේ නුවණ නිසයි ඒ රහතන්වහන්සේ කියලා කියන්නේ. ඒ නුවණ තමයි, හැම වේලාවකදීම, මේ ලෝකයේ දැන් අපි සත්ත්වයෙක් පුද්ගලයෙක් ඉන්නවා කියලා, මේ කෙනෙක් ඉන්නවා කියලා තර්කකරන තැන.

ඔය රහතන්වහන්සේ ගැන අහපු ප්‍රශ්ණ ටිකම, අපෙන් ඇහුවොත්, අපි අම්මා කියලා කියන්නේ, වර්ණ සටහනද? නැහැ. ඔය වර්ණ සටහන අරඹයා අපේ ඇහැ බිඳුනු වේදනාවටද? නැහැ. සඤ්ඤාවටද? නැහැ. සඞ්ඛාරයටද? නැහැ. අපේ හිතෙන්ම වින්ද එකද? නැහැ. එහෙනම් විඤ්ඤාණය, දැනගත්ත එකද අම්මා? නැහැ. එහෙනම්, ඔය ටික නැතුව අම්මා හැදුනාද? නැහැ.

එතකොට, අපි ඔය ඉන්නවා කියලා එක දිගට තියෙන අම්මාව පනවන්නේ මොකෙන්ද, මේ ස්කන්ධ පඤ්චකයේ නම් පැවැත්ම තියෙන්නේ? ඒ ටික මේ මොහොතේ හටගෙන මේ මොහොතේම නිරුද්ධවෙලා නම්? දැන් මොන අම්මා ගැනද ඔය කතාකරන්නේ? අපට කොටින්ම, එළියේ ඉන්න අම්මාව පනවන්න තැනක් නැතිවෙලා.

බයවෙන්න එපා, මේ කියන්නේ අම්මා නැහැ කියලා එහෙම නෙවෙයි. මේ කියන්නේ, අම්මා හම්බවෙන තැනක තියෙන යථාභූත ස්වභාවය. නැත්නම්, අම්මාට තාත්තාට සලකන්න විදියකුත් නැහැ කියයි, අම්මා තාත්තාත් නැහැ කිච්චයි කියලා. ඒක නියත මිච්ඡාදිට්ඨියක්.

මේ දර්ශනය දකින කෙනා වැඩිපුර සළකනවා. ඇයි? තමන් හොඳින්ම කරන්නේ තමන්ගේ දේ නේද? අම්මාට සලකනවා කියලා සලකන්නේ තමන් වූ ස්කන්ධ ටිකක් පැත්තෙන් නෙවෙයිද? තමන් වූ ස්කන්ධ ටිකකට. ඒ හින්දා දන්නවා අම්මාට සළකනවා කියලා කිච්චාට, තමන් සළකාගන්නේ තමන්ටමයි කියලා. ඉතින් වැඩිපුර සළකනවා, ඒ කෙනා. අනිත් කෙනා නම් නිකම් හරි හිතේ අප්‍රසාදයක් ඇතිකරගන්න පුළුවන්. මේ කෙනා එහෙමවත් අප්‍රසාදයක් ඇතිකරගන්නේ නැහැ. හොඳටම සළකනවා. ඇයි? දන්නවා අප්‍රසාදයක් ඇතිකරගත්තත් තමන් ගැනමයි කියලා. ඒ හින්දා හොඳටම සළකනවා. ඒ හින්දා ඒ ගැන බයවෙන්න එපා.

මේ කියන්නේ, අම්මා හැදුනු තැනක තිබුනු යථා භූත ස්වභාවය පිළිබඳව. අපි එළියේ ඉන්නා අම්මා කෙනෙක් ගැන කතාකරනකොට, ඒ එළියේ ඉන්නා අම්මා ගැන හිත හිතා

දුක්වෙනවා කියන තැන තියෙන ඇත්ත ස්වභාවය පිළිබඳව, මේ කතාකරන්නේ.

එතකොට, ඒ එළියේ ඉන්නවා කියන අම්මා ගැන හිත හිතා, ලෙඩවෙනකොට අපි දුක්වෙනකොට, ඒ අම්මාගේ ලෙඩ හොඳවෙනවා නම්, කොච්චර ඇඬුවත්, කොච්චර දුක්වුනත් කමක් නැහැ. තිවාඩු දාලා දුක්වෙන්න, තිවාඩු දාලා අඬන්න, අපි දුක්වෙන තරමට අම්මාගේ ලෙඩ හොඳ වෙනවා නම්. නමුත් එහෙම වෙන්නේ නැහැ නේ.

ඒ නිසා, අපි දුක නැතිකරගත්තා කියන එක කාටත් පාඩුවක් නෙවෙයි. අපෙන් වෙන්න ඕන ටික වෙලා නම්, අපි දුක නැතුව හිටියා කියන එක කාටවත් ප්‍රශ්නයක් එහෙම නෙවෙයි.

ඒ නිසා, හොඳට දකින්න ජීවිතයේ, අපි ඇත්තටම අම්මාව හදාගන්නේ මොකෙන්ද කියලා. ගොඩාක් දෙනෙක් වරදවාගන්නා තැනක් තමයි, මේ කියන්න උත්සාහවත් වෙන්නේ, එළියේ රූප ශබ්ද ගන්ධ රස ස්ඵශ්‍ර නැහැ කියලා කියන එකක් කියලා. "නැහැ" කියන එක, එක් අන්තයක්. ඒ වගේම තමයි, "තියෙනවා" කියලා කිව්වොත්, ඒක අනිත් අන්තය.

"*කච්චානගොත්ත සූත්‍රයේදී,*" පෙන්වනවා, "ඇත" කියන එක, එක් අන්තයක්, "නැත" කියන එක, අනිත් අන්තය. මේ අන්ත දෙකටම අපට වැටෙන්න බැහැ, අපට කතාකරන්න වෙන්නේ හේතු ඵල දහමක් පිළිබඳව කියන එක.

මේ ස්කන්ධ ටික ඇතිකල්හි, අපි කියනවා පුද්ගලභාවයක් කියලා. මේ ස්කන්ධ ටික ඒ මොහොතේම නිරුද්ධවෙනවා. එතකොට, අපට කියන්න වෙනවා, පුද්ගලභාවය මේ මොහොතේම නිරුද්ධවුනා කියලා.

ඇහැ ගැන විස්තර කරනකොට, ඇහැට කියනවා වචනයක්, **"අත්ථභාව පරියාපන්නො"** කියලා. ආත්මභාවය අනුව ගියපු දෙයක් කියලා. ඇහෙන් රූපය බලන මොහොතේදී, ඇත්තටම තමන් කියලා කියන්නේ ඒ රූපය බලන්න වැයවුනු මොහොත. **"අත්ථභාව පරියාපන්නො",** ආත්මභාවය අනුව ගියපු දෙයක්. කන ආත්මභාවය අනුව ගියපු දෙයක්.

මේ ආයතන ටික තමයි තමන්වෙලා තියෙන්නේ. ආයතන ටික තමයි, තමන්ව නියෝජනය කරලා තියෙන්නේ. හැබැයි, ඔය ආයතන ටිකෙන් අපට පෙන්වලා තියෙන්නේ, එලියේ තියෙන රූප, එලියේ තියෙන ශබ්ද, එලියේ තියෙන ගන්ධ, රස, ස්ප්‍රශ්, අපේ හිතේ අරමුණු. මේ දේවල් ටික තමයි අපි ඇසුරු කරලා තියෙන්නේ.

මේ එලියේ ගොඩාක් දේවල් කියලා අපට පෙනුනාට, පැහැදිලිද අපි, අපිවම ඇසුරුකරලා කියන එක? තමන් කරගත්ත ලක්ෂණ ටිකමයි මේ ඇසුරු කරලා තියෙන්නේ කියන එක?

ඒ නිසා, ඔය තමන් තමන්ව විඳින මානසික මට්ටම දුරු කරගන්න  තමයි, බුදුරජාණන් වහන්සේ අපට, මේ නුවණ ඇතිකරගන්න දේශනා කළේ. ඔය අනිත්‍යය කියන තැන, ඒ තරම් ගැඹුරට යන දර්ශනයක්. කොතනද ඔය අනිත්‍යය සාක්ෂාත් කළයුත්තේ? ඇහැ අනිත්‍යවෙන දෙයක්. කන අනිත්‍යවෙන දෙයක්. නාසය, දිව, කය, මන අනිත්‍යවෙන දෙයක්.

අනිත්‍යයි කියලා කිව්වේ, මේ ඇහැ පරනවෙලා, නැතිවෙලා, මරනින් මත්තේ පොලවට පස්වෙනවා කියන

එකක් එහෙම නෙවෙයි. මේ මොහොතේ හටගෙන, ***'අහුත්වා සම්භූතං හුත්වා න භවිස්සතී". 'අහුත්වා',*** පෙර නොතබීම. ***'සම්භූතං'*** හටගත්තා. ***'හුත්වා'*** දැන් හටගෙන. ***'න භවිස්සතී',*** අනාගතයට පවතින්නේ නැහැ. පෙර නොතිබීම හටගෙන ඉතුරු නැතුවම නිරුද්ධවෙනවා.

එතකොට, ඇහැ ඇතිවෙන මොහොතේදී, කනයි, නාසයයි, දිවයි, කයයි ඇත්තේ නැහැ. ඇහැ විතරයි. අනිත් ආයතන ටික ගැන දැනුමක් ඇත්තේ නැහැ. කන ඇතිවෙන මොහොතේදී, කන විතරයි. ඒ ඒ මොහොතේ අපට තමන්ව නියෝජනය කරලා තියෙන්නේ, ඔන්න ඔය ආයතන ටික.

එතකොට, ඒ මොහොතේදී, මේ තමන් වූ ආයතන ටික ඉතුරු නැතුව නිරුද්ධයි. හැබැයි, අපි ඔය තමන් කියනා බව නියෝජනය කරලා තියෙන්නේ කොහෙන්ද? බාහිර රූප තුළ. ශබ්ද තුළ, ගන්ධ තුළ, රස තුළ, ස්ප්‍රශ්ඨ තුළ.

ඔයගොල්ලෝ හෙට ඇවිල්ලා මේ ධර්මාසනය දිහා බැලුවොත්, මේ ටික මෙහෙමම තියෙනකොට, ඔයගොල්ලෝ කියනවා, ධර්මාසනය ඊයේ තිබුනු විදියට තාම තියෙනවා කියලා. ඒකෙන් ඔයගොල්ලෝ තව කතාවක් කියනවා. ඊයේ ඉඳලා මම ජීවත්වුනා කියලා. එහෙම නෙවෙයිද? ධර්මාසනය ඊයේ ඉඳලා මෙතන තිබුනා කියලා අපි කියනවා. ඒකෙන් ඔයගොල්ලෝ කියනවා, ඊයේ ඉඳලා මම ජීවත්වුනා කියලා.

අපි, ඔක්කෝම එළියේ ඇතිබවට ගන්නකොට, අපි දන්නේ නැහැ, ඒ හැම තැනකදීම, මේ පැත්තේ තමන්ව හදාගෙන තියෙනවා කියන එක. අපි ඉර ගහන්නේ එළියේ. ඇත්තටම තියෙන්නේ, මේ පැත්තේ, තමන්ව ස්ථාපනය කරගන්නා එක.

මම කියන්නේ, ඕක බෝට්ටුවේ ඉර ගහනවා වගේ කියලා. දෙන්නෙක් බෝට්ටුවේ යන ගමන්, බුලත්විටක් කන්න යනකොට, ගිරේ වැටෙනවා වතුරට. මෙන්න මෙතනිනුයි ගිරේ වැටුනේ කියලා, බෝට්ටුවේ යන ගමන්, හුනු ටිකක් අරගෙන, බෝට්ටුවේ ඉරක් ගහනවා. වැඩේ හරිද? හරියන්නේ නැහැ. ඇයි? වතුරේ ඉර ගහන්න බැරි නිසා බෝට්ටුවේ ඉර ගැහුවාට වැඩක් නැහැ. මෙතනින් වැටුනා කිව්වාට, බෝට්ටුව ගිහිල්ලා ඉවරයි නේ. අන්න ඒ වගේ දෙයක්.

අපිත් ඉර ගහනවා එලියේ. අපි කතාකරනවා අවුරුදු ගනන් පරන දේවල්. හැබැයි, අවුරුදු ගනන් එලියේ තිබුනු පරන දේවල් ගැන කතාකරාට අපි දන්නේ නැහැ, අපි ඒකෙන් කතාකරන්නේ, මේ මොහොතේ තමන් කියන ලක්‍ෂණය පිළිබඳවමයි කියලා. අපි දැනුත් මේ රූපය මෙතන තියෙනවා කියලා, එලිය පැත්තේ ඉර ගහනවා. හැබැයි, තියෙන්නේ, මේ පැත්තේ තමන් ළඟ. දකින කෙනා මේ පැත්තේ ඉන්නවා.

ඔන්න ඔය පුද්ගලබව, හැම වේලාවකදීම, පවතින එක තමයි, ලොකුම ප්‍රශ්නය තියෙන්නේ. ඔය පුද්ගලබව පවතින එක. ඔය පුද්ගලබව සිඳෙන්නේ නැතුව, කොච්චර සෝවාන්වුනත් වැඩක් නැහැ. ඔය පුද්ගලබව සිඳෙන්නේ නැතුව, කොච්චර සකෘදාගාමීවුනත්, අනාගාමීවුනත්, රහත්වුනත් වැඩක් නැහැ. අද උත්සාහවත් වෙන්නේ, මේ ඉන්න කෙනාව, මේ පුද්ගලයාව කොහොම හරි සෝවාන් කරගන්න.

එතකොට, සෝවාන් උනහම, අස්මි මානය දුරුවෙනවා කියලා නෙවෙයි කිව්වේ. සක්කාය දිට්ඨිය හරි දුරුවෙන්න එපාය. මේ රූපය මම කරගත්තකම දුරුවෙන්න ඕන. නමුත් අද සෝවාන් ආර්‍යයන්වහන්සේලා එහෙම නැහැ. අද මේ

කෙලෙස් ටික ඒ විදියටම තියෙනවා. ඇයි ඒ? අපට ජීවිතයේ, සෝවාන් කියන එකත් තවත් එක සීල් එකක් කරගෙන.

මම ඕකේදී කියන්නේ, සෝවාන්වෙලා සක්කායදිට්ඨිය දුරුකරගන්න එපා. සක්කායදිට්ඨිය දුරුකරගෙන සෝවාන්වෙන්න කියලා. අද හදන්නේ, සෝවාන්වෙලා සක්කායදිට්ඨිය දුරුකරගන්න. කොහොම හරි මාර්ගඵල ලබාගන්න. සමහර වෙලාවට, අපට හම්බවෙලා තියෙනවා, එකම කෙනා තුන් හතර වතාවක් සෝවාන්වෙච්ච අය. එක තැනකින් බණ අහනවා, සෝවාන්. ටික කාලයක් යනකොට, එතන සෝවාන්කම අතහැරලා, තවත් තැනකට ගිහිල්ලා බන අහලා, එතනින් අළුතෙන් සෝවාන්කම අරගෙන. ඊටපස්සේ, තවත් තැනකින් ආයෙත් සෝවාන්වෙනවා.

දැන් එකම කෙනා, ඒත් සෝවාන් කියලා හිතාගෙන ඉන්නවා. ඒක ගැනත් ප්‍රශ්නයක් නැහැ. ඉතින් ඇත්තටම, අපට ජීවිතයේ අවශ්‍යවෙන්නේ කොහොම හරි සෝවාන් වෙන්න නම් නෙවෙයි. සෝවාන්වුනා කියන එක වැදගත් දෙයක් නෙවෙයි, ඇත්තටම.

වැදගත්ම දේ, සක්කාය දිට්ඨිය දුරුවුනාද නැද්ද කියන එක. ඒකට ලෝකයා, සෝවාන් කිව්වත් එකයි, මොනවා කිව්වත් එකයි. වැදගත් වෙන්නේ, සක්කාය දිට්ඨිය දුරුවුනාද කියන කාරණාවයි.

ඒ නිසා, අන්න එතනට තමන්ගේ මනස ගන්න. සක්කාය දිට්ඨිය දුරුකරගන්න බැහැ, අපට මේ ආයතන ටික ගැන ලැබෙන යථාභූත ස්වභාවය ගැන අවබෝධයක් නැත්නම්. අනිත්‍යය ගැන අපට අවබෝධයක් නැත්නම්. අනාත්මය ගැන අවබෝධයක් නැත්නම්.

අනාත්මයි කියලා කියන්නේ, ආත්මයක් නැහැ කියලා නෙවෙයි. ආත්මයක් නැහැ කියන එක වැරදි දැක්මක්. අපි අනාත්මයි කියනකොට අපි හිතාගෙන ඉන්නවා අර අනිත්‍යය ගැන කතාකළා වගේම, අනාත්මයි කියන්නේ ආත්මයක් නැහැ කියන එකයි කියලා. නැහැ, ආත්මයක් නැහැ කිව්වොත් වැරදියි. අපට ආත්මයක් ගැන ඒ විදියට කතාකරන්න බැහැ.

ආත්මයක් තියෙනවා කියන්නත් බැහැ, ආත්මයක් නැහැ කියන්නත් බැහැ. ඇත කියන එකත් එක අන්තයක් නම්, නැත කියන එකත් එක අන්තයක් නම්, කොහොමද අපි ආත්මයක් තියෙනවා හෝ නැහැ කියන්නේ?

බුදුරජාණන් වහන්සේ දේශනා කළේ ආත්මයක් නැහැ කියලා නෙවෙයි. මේ විදියට ඒ ඒ මොහොතේ හටගත්තහම, හටගත්ත ටික දකිනකොට, එයාට ආත්මයක් නැහැ කියන්න බැහැ, හටගෙන තියෙනවා නේ. හැබැයි ආත්මයක් තියෙනවා කියන්නත් බැහැ, හේතු නිරෝධයෙන් ඒ ටික නිරුද්ධවෙලා. එතකොට, හේතුඵල දහමක් තියෙන්නේ. හේතු ටික ඇති කල්හි හටගෙන, හේතු නිරෝධයෙන් නිරුද්ධවෙලා.

ඒ නිසා, ආත්මයක් නැහැ කියන්නත් බැහැ, තියෙනවා කියන්නත් බැහැ. හේතුඵල දහමක් ගැන කතාකරලා තියෙන්නේ.

ඒ නිසා, අනාත්මයි කියනකොට, මේ ආත්මයක් නැහැ කියපු දෘෂ්ඨිය නෙවෙයි. ආත්මයක් පනවන්න තැනක් නැහැ. ඇහැ ඒ මොහොතේ හටගෙන ඒ මොහොතේම නිරුද්ධවෙලා නම්, ඒ ඒ ආයතන ටික ඒ ඒ මොහොතේ හටගෙන, ඒ ඒ මොහොතේම නිරුද්ධවෙලා නම්, දැන් ආත්මයක් පනවන්නේ කොතනද? ඒ ධර්මතාවය පෙර නොතිබීම හටගෙන, ඉතුරු

නැතුවම නිරුද්ධවෙලා නම්. ඉතුරු නැතුවම කියලා කියන්නේ ලොකු අර්ථයකින්. චූටි කෙන්දක්වත් ඉතුරුයි කියනවා එහෙම නෙවෙයි. ඉතුරු නැතුවම නිරුද්ධවෙලා නම්? ආයෙ ආත්මයක් ගැන පනවන්න තැනක් නැහැ.

ඒ නිසාම තමයි, ***'නිස්සත්තෝ, නිජ්ජීවෝ, සුඤ්ඤෝ'*** කියලා කියන්නේ. සත්ත්ව පුද්ගලබවක් නෙවෙයි, සුඤ්ඤතාවයක් තියෙන්නේ. සත්ත්ව පුද්ගලබවක් පනවන්න තැනක් නැහැ. නැත්නම් සත්ත්වයෝ නැහැ, පුද්ගලයෝ නැහැ නෙවෙයි. සත්ත්වයෝ නැහැ කිව්වොත්, නැති සත්ත්වයෝ අපට පෙන්වන්න වෙනවා. අපි සුඤ්ඤයි කියලා කිව්වොත් මොකෙන්ද සුඤ්ඤ කියලා පෙන්වන්න වෙනවා.

දැන් ඔයගොල්ලෝ, මේ ශාලාවේ කවුරුත්ම නැති වෙලාවක ඇවිල්ලා කියයි, කවුරුත් නැහැ කියලා. ඇත්තටම කවුරුත් නැද්ද? එක් කෙනෙක් ඉන්නවා. තමන් ඉන්නවා. තමන් ඉන්න නිසානේ කවුරුත් නැහැ කියලා දැනගත්තේ. එතකොට, සුඤ්ඤ නැහැනේ, අසුඤ්ඤයිනේ. ඇයි තමන් ඉන්නවානේ. හිස්වෙලා නැහැ. තමන් ඉඳලා මෙතන. ඒ නිසා, අපට සුඤ්ඤයි කියලා කිව්වේ, මේ ලෝකයේ මොනවත්ම නැහැ, අපි හිස් තැනකට පත්වුනා වගේ, එහෙම දෙයක් නෙවෙයි.

එතකොට, මේ පැය තුන හතරක් සුඤ්ඤතාවයෙන් ඉන්නවා, මේකම නේද නිරෝධ සමාපත්තිය කියන්නේ කියලාත් කෙනෙක් මගෙන් ඇහුවා.

ඉතින් මම ඇහුවා, මහත්තයා, දැන් පැය තුන හතරක් ශූන්‍යතාවයෙන් හිටියා කියලා දැනගත්තේ කවුද? ඒ දැනගත්තේ මොකෙන්ද? ඒ දැනගත්තේ තමන්. දැනගත්තේ

සිතෙන්. ඉතින්, තමනුත් ඉඳලා නම්, හිතත් තිබුනා නම්, ආයෙ මොකෙන්ද සුඤ්ඤයි කියලා කතාකරන්නේ? ඉතින් පුද්ගලයා ඉඳලා නේ. ආයි සුඤ්ඤයි කියලා කතාකරන්න දෙයක් නැහැ අසුඤ්ඤයි නේ.

ඒ නිසා, ශුන්‍යතාවය විඳින තමන්ව ඉඳලා හරියන්නේ නැහැ.

බුදුරජාණන්වහන්සේ මේ ලෝකය ශුන්‍යයි කියලා කිව්වේ මේ සත්ත්වයෝ නැහැ පුද්ගලයෝ නැහැ ගෙවල් දොරවල් නැහැ ඒ ශුන්‍යතාවය නෙවෙයි. ඒ ශුන්‍යතාවය තමයි, ***'නත්ථි කිඤ්චි'*** කියලා කිසිවක් නැහැ කියලා, ධ්‍යාන ලබාගන්නාකොට, අරූප ධ්‍යාන ලබාගන්නාකොට, ඇතිකරගන්න ඒ දේ. ඒක ලෞකිකයි, සඞ්ඛතයි.

හැබැයි, බුදුරජාණන් වහන්සේ දේශනාකරපු ශුන්‍යතාවය, ඊට වඩා බොහොම ගැඹුරුයි. ඒ ශුන්‍යතාවය කියලා කිව්වේ ලෝකේ මොනවත් නැහැ කියලා නෙවෙයි. ඒ ශුන්‍යතාවය කතාකළේ, මේ ආයතන ටික පැත්තෙන්. හේතු ටික ඇතිකල්හි හටගෙන, හේතු නිරෝධයෙන් නිරුද්ධ වෙනවා නම්, දැන් මොකක්ද ඇතිබවට පනවන්නේ? එයාට ඇතිබවට පනවන්න දෙයක් නැහැ. ඒ නිසා ශුන්‍යයි.

එයාට ශුන්‍යතාවය කියන තැන, හේතු ඵල දහමක පැවැත්මක්, නිරෝධයක් හම්බවෙලා තියෙනවා. නිරෝධ සඤ්ඤාව නිසා තමයි එයාට ශුන්‍යතාවය තියෙන්නේ.

එතකොට, දැන් අනිත්‍ය සහ අනාත්මය කියන දේ, සෝවාන් ආයසීයන් වහන්සේට එළඹසිටි දෙයක් වෙලා. ඒ සඤ්ඤා විපල්ලාසය, අනිත්‍යයේ නිත්‍යයි කියන විපල්ලාසය,

සහ අනාත්මයෙහි ආත්මයි කියන විපල්ලාසය, පෙරළුනු සඤ්ඤා දෙක සෝවාන් ඵලයෙන්ම නැතිවෙන දෙයක්.

හැබැයි, අද සෝවාන් අයට ඔය දෙක දුරුවෙලා නැහැ. ඒක තමයි තියෙන ලොකුම ප්‍රශ්නය.

ඒ නිසා, අද මේ දහම, බොහෝම සරළ කරලා, ටක්ගාලා මාර්ගඵල ලබාගන්න පුළුවන්, ක්‍ෂණික නූඩ්ල්ස් වගේ බවට මේ දහමත් පත්කරලා. හැබැයි කවුරුත් දන්නේ නැහැ ක්‍ෂණික නූඩ්ල්ස් ඇඟට බොහොම අගුණයි කියලා. ඒවා කෑවොත් ඉක්මණට ලෙඩවෙනවා.

ඒ වගේම තමයි, ඔය ධර්මය තුළත්, ඔය හදාගන්න ක්‍ෂණික ආහාර බොහොම අගුණයි. ඒක බොහොම සසර ගමනටම බොහොම අගුණ දෙයක්. ඒක බොහෝ දෙනෙක් දකින්නේ නැහැ. බොහෝ දෙනෙක් තර්ක කරනවා. සුනීත සෝපාකලාත් නිවන් දැක්කේ එහෙනම්? මේක ඇයි මෙච්චර සංකීර්ණ කරන්නේ කියලා.

සුනීත සෝපාකලා නිවන් දැක්කා තමයි. හැබැයි, අපි දන්නවාද සුනීත සෝපාකලාගේ තිබුනු ඉන්ද්‍රිය කොච්චර වැඩුනු ඉන්ද්‍රියද කියලා? ඒක දකින්නේ නැහැ නේ, අපි. මේ වයස කතාකරන්නේ අපි ඇඟ දිහා බලලා නේ. හැබැයි, අපි දන්නේ නැහැ මේ ඇඟට නෙවෙයි වයස කතාකරන්න වෙන්නේ, ඒ හිතට වයසක් කතාකරන්න බැහැ කියන එක අපි දන්නේ නැහැ. ඇඟ බලලා සත් හැවිරිදියි කිව්වාට, එයාගේ ඉන්ද්‍රිය බලලා සත් හැවිරිදියි කියන්න එහෙම වෙන්නේ නැහැ.

දැන් දාරුචීරිය හාමුදුරුවන්ට ***'දිට්ඨේ දිට්ඨ මත්තං, සුතේ සුත මත්තං, මුතේ මුත මත්තං, විඤ්ඤාතේ විඤ්ඤාත මත්තං'*** කියලා කිව්වා. ධර්මය අවබෝධ

කරගත්තා, දැකීම දැකීමක් විතරයි කිව්වාහම. දැන් අපට විස්තරකරලා කියලාවත් අවබෝධවෙන්නේ නැත්නම්, හිතාගන්නකො අපේ ඉන්ද්‍රියයන් කොච්චර නොවැඩුනු බවක්ද කියලා.

සෝපාක හාමුදුරුවෝ කොහොමද? ***'එක නාම කිං'*** කියලා අහනකොට, උත්තරදෙන්නේ, ***'සබ්බේ සත්තා ආහාරට්ඨිතිකා'*** කියලා. ***'ද්වේ නාම කිං'*** කියලා අහනකොට, ***'නාමඤ්ච රූපඤ්ච'*** කියලා. ***'තීණි නාම කිං'*** කියලා අහනකොට, ***'තිස්සො වේදනා'*** කියලා.

'එක' කියන්නේ මොකක්ද කියලා අපෙන් ඇහුවොත්, 'එක' කියන්නේ 'එක' නේ කියයි. වෙන මොනවා කියන්නද? නමුත් උන්වහන්සේගෙන් ඇහුවාහම, ***'සබ්බේ සත්ථා ආහාරට්ඨිතිකා',*** සියළු සත්ත්වයෝ ආහාරයෙන් යැපේ. මේ සත් හැවැරිදි සාමනේරයෝ. හැබැයි, අවුරුදු 7 ඇඟට වුනාට, ඔය නුවණට අවුරුදුගණන කතාකරන්න වෙන්නේ නැහැ. ඒ තරම් ඉන්ද්‍රිය වැඩිලා තිබුනා. සත් හැවිරිදි කියලා ඇඟ දිහා බලලා අපි ධර්මය සරළකරන්න ගිහිල්ලා හරියන්නේ නැහැ. මේක බොහොම සියුම් කාරණාවක්.

අපට, දහම කියලා බොහොම ගැඹුරු අභිධර්ම පාඩමක් ඉගෙනගන්න අවශ්‍යවෙන්නේ නැහැ. මුළු අභිධර්ම පිටකයම ඉගෙනගන්න ඕන නැහැ නිවන් දකින්න. මේ ආයතන ටික ගැන ඔය දැක්ම තිබුනා නම් හොඳටම ඇති. ඔය ආයතන ටික ගැන තමයි අවබෝධ කරගන්න ඕන. ඒ ටික අවබෝධ කරගන්න ඕන නිසා තමයි, ඔය ගොඩාක් පරියායන් අරගෙන කියලා දෙන්නේ.

එතකොට, ඔය ආයතන ටික ගැන අවබෝධය නැතුවත් නිවන් දකින්න පුළුවන් කියලා කියනවා නම් කෙනෙක්, එයා එහෙනම් බුදුරජාණන්වහන්සේටත් වැඩිය ලේසි ක්‍රමයක් සොයාගෙන. මොකද? බුදුරජාණන්වහන්සේ, ඊට වඩා ලේසි ක්‍රමයක් තියෙනවා නම් අපට කල් ඇතුවම දේශනාකරනවා.

ඒ වුනාට, අද වර්තමානය තුළ, මේ වගේ එක එක දෘෂ්ඨි, එක එක මතවාද, බොහොම වේගයෙන් සමාජගතවෙලා තියෙනවා. මේකට තියෙන හේතුව තමයි, ධර්ම විනය පිළිබඳව, නොදන්නාකම. අපි දන්නේ නැහැ, ධර්මය ගලපන්න ඕන කොහොමද, කොතෙන්ටද කියන එක ගැන.

අපි හිතන්නේ, කවුරු හරි කෙනෙක් සෝවාන් කිව්ව ගමන්, අපටත් පුළුවන් ඒ පහණෙන්ම යන්න කියලා. අපිත් හිතනවා නිවන් දකින්න පුළුවන් කියලා.

මේ සෝවාන්කම කියන එක අපට එහෙම ගන්න පුළුවන් එකක් එහෙම නෙවෙයි. ඔය සෝවාන්වෙන්න මාර්ගය වඩනකම්ම බය වෙන්න එපා, සෝවාන්වෙන්න බැහැ. ඒක තමයි ඇත්තම කතාව. ඇයි එහෙම කිව්වේ? ඔය සෝවාන් කරගන්න හදන්නේ මේ රූපවත් වූ මාව නේ. දැන් මම කියලා කියන සඤ්ඤාව, මේ පුද්ගලයාව සෝවාන් කරගන්න හදනවා. මේ රූපයම සෝවාන් කරගන්න හදනකම් ඕක හරියන්නේ නැහැ.

යම්කිසි විදියකින්, සළායතන නිරෝධය යම් මට්ටමකට අවබෝධ කරගත්තොත්, ඔය පුද්ගලයාව පනවන්න, රූපය පැත්තෙන් හම්බවෙන්නේ නැතිවෙනකොට, ඒ මොහොතේ හටගෙන නිරුද්ධවෙන යථාභූත ස්වභාවය ගැන නුවණක්

ඇතිවෙනකොට, අන්න ඒ කෙනාට කියනවා සෝවාන් කියලා. මොකද? ඒ කෙනාට ලොකු දර්‍ශනයක්, ලොකු දැක්මක් තිබුනා.

ඒ නිසා, අපේ ජීවිතයේ අපට ගොඩාක්ම වැදගත්වෙන දේ තමයි, ඔන්න ඔය ධර්‍ම පරියාය, ධර්‍ම කොට්ඨාසය.

ඉතින් තව වෙනත් පැතිකඩවල් කිහිපයක් තියෙනවා, ඔය වගේ දේවල් වලදී අපි ජීවිතයට ධර්‍මය යොදාගන්න අවශ්‍යවෙන. නමුත් කාලය මදි ඒ ඔක්කෝම පැහැදිලි කරන්න. නමුත්, අපි තේරුම්ගන්න මෙන්න මේ වගේ ලොකු දර්‍ශනයක්, ලොකු පැතිකඩක් අපට බුදුරජාණන්වහන්සේ, දේශනාකළා කියන එක.

මේක මේ කොහේවත් තියෙන දහමක් ගෙනල්ලා ජීවිතයට එබ්බුවා නෙවෙයි. අපි ජීවත්වෙන තැන, අද දවසේදී ජීවත්වෙනවා කියන තැන තියෙන ඇත්ත කතාව පෙන්නුවේ. රූප බලනවා, ශබ්ද අහනවා, ගඳ සුවඳ විඳිනවා, රස විඳිනවා, ස්පර්‍ශ විඳිනවා කියපු තැන තියෙන ඇත්ත කතාව මේ දේශනා කළේ.

එතකොට, ඒ ඇත්ත තමයි, අද අපට තේරුම් ගන්නවෙන තැන, ඒ ඇත්තටම සිද්ධවෙන කාරණාව ගැන. තව විදියකින් කියනවා නම්, නිවන් දකින්න කියලා මේ කිව්වේ, අපි පුද්ගලයා කියලා මේ තමන් කියන තැන තේරුම්ගන්න එක නෙවෙයිද? තමන් කියන තැන තේරුම්ගන්න එක. මේ ආයතන ටික ගැන තේරුම්ගන්න එක.

***සළායතන නිරෝධය නිවනයි කියලා, බුදුරජාණන්වහන්සේ දේශනා කළේ.***

ඒ නිසා, මේ ඇහැ ඉතුරු නැතුව නිරුද්ධවෙන බව දැක්කකම නිසාම එයාට නිවන. ඒකෙන් කියන්නේ නැහැ, ඒ කෙනාට මේ ලෝකෙත් එක්ක කටයුතු කරන්න බැරිවෙනවා කියලා. මොකද? ඕක කිව්වාහම, එක්කෙනෙක් එක ප්‍රශ්නයක් නගලා තියෙනවා, "ඔය ඔක්කොම ඔහේ නෙවෙයි මෙහේ කියලා කිව්වොත් හොඳට තියෙයි, අලියෙක් ඉන්න තැනකින් ඔය ඔක්කොම ඔහේ නෙවෙයි මෙහේ කියලා අලියා ළඟට ගියොත් එහෙම අලියා ගහලා මැරෙන්න තමයි වෙන්නේ, ඊට වැඩිය හොඳයි එතනින් අයින්වෙලා පන බේරාගෙන යන එක කියලා".

ඉතින් ඇත්තටම, ඒකෙන් කිව්වේත් ඒකයි. මතකය නැතිවෙලා හෝ මේ ඔක්කොම එලියේ නැහැ මෙහේ කියලා කියන්න යන කතාවක් නෙවෙයි මේ කියන්නේ. පේන දේ ගැන නුවණ ඇතුව ඉන්නාකමක්.

ඇත්තටම අලියා ගහන්නේ, අලියාට බයේ අයින්වෙලා යන කෙනාට.

ඔයගොල්ලෝ අර සෙන් කතාවක් අහලා ඇති. හාමුදුරු දෙනමක් ගමනක් යනකොට, කාන්තාවක් වතුරේ ගහගෙන යනවා. පොඩි හාමුදුරුවෝ පීනලා, අර කාන්තාව ගෙනල්ලා ගොඩින් තියලා, දෙනමම ආපුහු විහාරයට යනවා. ලොකු හාමුදුරුවෝ විහාරයට ගිහිල්ලා, දොස් කියනවා, හොඳයිද කාන්තාවකගේ ඇඟෙන් අල්ලන්න? ඔය කරපු වැඩේ හොඳද කියලා දොස් කියනකොට, පොඩි හාමුදුරුවෝ කියනවා, "ස්වාමීනි මම කාන්තාව එතන තියලා ආවේ, ඔබවහන්සේ තාමත් කරේ තියාගෙන ඉන්නවා නේ" කියලා. දැන් ඒකෙන් කියන්නේ ඇත්තටම, කාන්තාවගේ ප්‍රශ්ණය කියන්න අවශ්‍ය

නිසා නෙවෙයි. ඒ සෙන් කතාවෙන් හරි ලොකු ගැඹුරු අර්ථයක්, ඒ තුළ කතාකරන්නේ.

මේ කාන්තාව කරේ තියාගෙන ආවා කියලා කියන්නේ, හැම වේලාවකදීම, ඔය අලියාගේ ප්‍රශ්නය වගේ තමයි.

අලියෙක් ඉන්නකොට, කෙනෙක් මේ අලියාට බයේ අයින්වෙලා යනවා. දැන් අයින්වෙලා යනකොට, මොකටද බයවෙන්නේ? අර එලියේ ඉන්නා අලියාට. අලියා ඉන්නවා කියන්නේ මොකක්ද? භවය, කාම භවය. සතර මහා ධාතුව පැත්තේ අලියා ඉන්නවා. දැන් ධාතුව විඳින්න පුළුවන් විදියට, එක් ක්ෂණික වශයෙන්ම ජාතිය. මේ මොහොතේම ජාතිය. ජාතිය කියන එක හිතන්න එපා මවුකුසින් බිහිවෙන එකම විතරක් කියලා. ***'ඛන්ධානං පාතුභාවො, ආයතනානං පටිලාභො',*** ස්කන්ධයන්ගේ පහලවීමක්, ආයතනයන්ගේ නැවත ලැබීමක්, මේකත් ජාතියම තමයි. මේකට කියනවා "එක් ක්ෂණික ජාතිය" කියලා. මවුකුසින් බිහිවෙන එකට කියන්නේ "සන්තති ජාතිය" කියලා.

මේ ජාති දෙකේ පුංචි වෙනසයි තියෙන්නේ. අපට අද ලොකු වෙනසක් තිබුනාට, මැරෙන්න බය වුනාට, ඇත්තටම ප්‍රශ්නය තියෙන්නේ අපි මැරෙන්නේ නැති එක නේ. එහෙම නේද? ඇත්තටම ප්‍රශ්නය තියෙන්නේ අපි මැරෙන්නේ නැති එක.

ඇත්තටම ප්‍රශ්නය තියෙන්නේ, මෙතන අයින්වෙනවා. මේ කයෙන් අයින් වෙනකොටම, තවත් තැනක ප්‍රතිසන්ධිය අරගෙන ඉවරයි. දැන් මේ මැෂින් එක, අද අපට තියෙනවා. තියෙන නිසා, දැන් අපි කරන්නේ, අලුතෙන් ලෙන්ස් එක දාගන්න එක විතරයි. නැතිනම් අර නෙගටිව් එක අලුත්කරන

එක විතරයි මේ කර කර යන්නේ එක දිගට. මැෂින් එක තියෙනවා. කැමරාව තියෙනවා, නෙගටිව් දානවා. දැන් කරන්නේ ඒක.

මැරෙනවා කියන්නේ, වෙන මොකක්වත් නෙවෙයි, අලුතෙන් කැමරාවකුත් හදාගන්න වෙලා. දැන් දාන්නේ නෙගටිවු එක විතරයි, ප්‍රසාද ටික විතරයි අළුත් කරන්නවෙලා තියෙන්නේ, මැෂින් එක තියෙනවා. හැබැයි, මැරෙනවා කියන තැනකදී වෙන්නේ, නැවත උප්පත්තියකට යනවා කියන තැනදී වෙන්නේ, අලුතෙන් කැමරාවකුත් හදාගන්න වෙලා. නැතිනම්, මැෂින් එකකුත් හදාගන්න වෙලා. ඒකයි ප්‍රශ්ණය තියෙන්නේ. එහෙම නැතුව වෙන අමුතු දෙයක් වෙලා නැහැ.

ඉතින් දැන් එක් ක්‍ෂණික ජාතියේදීත්, සන්තති ජාතියේදීත් තියෙන එකම වෙනස, සන්තති ජාතියේදී මැෂින් එකම අළුතෙන් හදාගන්න වෙලා. නමුත් එකම සිද්ධිය තමයි, වෙලා තියෙන්නේ. දැන් මේ මොහොතේදීත්, ඇහැ බිඳනා, බිඳනු ඇහැ ගැන දැනගත්තා, එළියේ තියෙනවා කියලා හිතන, භව සඤ්ඤාව නිසා, නැවතත් ප්‍රසාදය හැදුවා. ප්‍රසාදය හැදෙනකොටම, ආපහු, අර අලියා ඉන්නවා. අලියාගේ ශබ්දය ඇහෙනවා. ආපහු හිතෙන්ම හිතනකම නිසා, ආයෙත් හැදෙනවා. දැන් අලියා ගහනවා මැරෙනවා, උපදිනවා. අයින්වෙලා යන්නේ. ඒ වුනාට, අලියා ගහනවා, මැරෙනවා, උපදිනවා.

අලියා නිසා, ඒ මොහොතේත් මැරි මැරී, ඉපදි ඉපදී යනවා.

අනිත් කෙනාත් අයින්වෙලා යනවා. හැබැයි එයාට අලියා නැහැ. අලියා නැහැ කියලා කිව්වේ, එළියේ අලියෙක්

නැහැ කියලා සඤ්ඤාවක් නෙවෙයි. මේ හේතු ටික ඇතිකල්හි, ඇහැට පෙනුනු වර්ණ සටහන මේ විදියටම ඉතුරු නැතුව නිරුද්ධවුනා. ඒක ගැන නුවණයි. හිතෙන් දැනගත්ත දේ ගැන හිතෙන් දැනගත්ත බවට නුවණයි. හිතේ තියෙන දේ එළියට ගැටගහලා, එළියේ ඉන්නා අලියයි දැනගත්තේ කියන මෝඩකම නැහැ එයාට. එයත් අයින්වෙලා යනවා.

එතකොට, ලෝකෝත්තර ඥානය ඇතිවුනා කිව්වාහම, සම්මුති ඥානය නැතිවෙලා නැහැ නේ. ශිෂ්‍යත්ව දැනුම නැතිවෙලාද, උසස්පෙල ලියන ලමයෙකුට? ඊට වඩා වැඩි දැනුමක් මිසක, ශිෂ්‍යත්ව දැනුම නැතිවෙලා නැහැ.

අලියා ළඟට ගියොත් අලියා ගහනවා කියන එක නොදන්නවා නෙවෙයි. හැබැයි, ගහන්න අලියෙක් ඉඳලත් නැහැ, ගුටිකන්න කෙනෙක් ඉඳලත් නැහැ, එතන. එච්චරයි වෙනසකට තියෙන්නේ. ඒක නුවණ. ඒ නුවණින් යුක්තව කටයුතු කරලා තියෙනවා.

දැන් ලෝකයා අතන අලියෙක් හිටියාද කියලා ඇහුවොත්, "ආ ඔව්, හරි භයානක අලියෙක් හිටියා" කියලා උත්තරත් දෙයි. ලස්සන රූපයක් දැක්කොත්, ලස්සනයිද කියලා අපි ඇහුවොත්, "ආ හරි ලස්සනයි" කියලත් කියනවා. මොකද, ලෝකෙත් එක්ක ගනුදෙනු කරන්න එපාය.

දැන් ඉගෙනගත්ත අම්මා කෙනෙක් තමන්ගේ දරුවා නලවනකොට, ජීව විද්‍යා පාඩමක් කියලාද දරුවා නලවන්නේ, නැත්නම් දරුවාගේ මනසට ගිහිල්ලා අම්මාත් දරුවෙක් වගේ වෙලාද දරුවා නලවන්නේ? අම්මාත් පොඩි එකෙක් වගේ වෙලා දරුවාව නලවනවා. හැබැයි, අම්මා පොඩි එකෙක් වගේ උනා කියලා, අම්මාගේ තියෙන අර දැනුම නැතිවෙලා ගියාද?

වැඩිහිටිකම නැති වුනාද? නැහැ. නමුත් දරුවා ළඟදී, දරුවා නලවන කාරණය ඒ විදියටම කළා.

ඒ විදියටම තමයි, නුවණ ඇති කෙනාත්, ප්‍රඥාව ඇති කෙනාත්, ලෝකෙත් එක්ක, අපිත් එක්ක ගනුදෙනු කරනකොට, මේ විෂම ලෝකේ සමව හැසිරෙනවා. අපිත් ලස්සනද කියලා ඇහුවොත්, "ආ හරි ලස්සනයි, හරි හොඳයි" කියයි. හැබැයි ඒකත් එක්ක ගැටෙන්න යන්නේ නැහැ. "ඔහේ කොහේද ලස්සන, මෙහේ නේ තියෙන්නේ" කියලා, මේ පැත්ත ගැන කියන්න යන්නේ නැහැ. ලස්සනයිද කියලා ඇහුවොත් ලස්සනයි කියනවා.

ඒක තමයි, විෂම ලෝකයේ, සමව හැසිරෙනවා. ලෝකයා එකක් ලස්සනයි, එකක් එපා කියනකොට, රහතන් වහන්සේට, ඔය ලස්සන එක ඕනවෙලා අනිත් එක එපාවෙලා නැහැ. ඒ තැන් දෙකේදීම සමානව හැසිරෙනවා.

ඇයි? දන්නවා, ඔය තැන් දෙකටම ප්‍රතිචාර දක්වන පැත්ත තියෙන්නේ, මේ පැත්තේ කියලා. හොඳ නුවණක් තියෙනවා, ඔය කාමය කියන එක ඇතිවුනේ බාහිර චිත්‍රයේ නෙවෙයි, මේ පෙනුණු වර්ණ සටහනේ නෙවෙයි, වර්ණ සටහන අරඹයා කෙන කෙනා, බලන ක්‍රමය අනුවයි ඔය ආශ්‍රව ටික ඇතිවුනේ කියලා.

ඒ නිසා, ඒ තැන අල්ලාගෙන, එතනම නිවාගෙන තියෙනවා. නිවෙන්න ඕන තැනම නිවලා. ඒ කෙනා තමන් තුළ නිවිලා. තමන් තුළ නිවුනේ නිකම් නෙවෙයි. නැතිවුනු දේ නැතිවුනා කියලා දැකලා, නැතිවුනු දේ ඇති හැටියට හිත හිතා සතුටුවෙන කමක් නැතුව ඉන්නවා. ඒ මෝඩකම දුරුවෙලා. ඒකයි මම මුලින්ම මතක් කළේ, ඔය මෝඩකම නැතුව ඉන්න

තිබුනා නම්, ඒ හොඳටම ඇති. නිවන් දකින්න කියලා මොකුත් කරන්න ඕනෑ නැහැ.

ඒ නිසා, ඔන්න ඔය සළායතන නිරෝධය නිවනයි කියන තැනට අපට පුළුවන් නම් අවබෝධයක් ඇතිකරගන්න, ඒක තමයි වැදගත්ම දේ.

මේ ශාසනය, රූප එපා කියලා රූප පැත්තෙන් දුරුකරන්න කියපු ශාසනයක් නෙවෙයි. ශබ්ද එපා කියලා, ශබ්ද පැත්තෙන් නැතිකරන්න, ගඳ සුවඳ, රස, ස්පර්ශ, එපා කියලා පනවපු ශාසනයක් නෙවෙයි.

පැවැත්ම පිණිස පනවපු විනය ශික්ෂාපද තියෙන්න පුළුවන්. ඒ විනය ශික්ෂාපද, මේ පැවැත්ම පිණිස පනවපු දේ. හැබැයි, නිර්වානගාමිණී ප්‍රතිපදාව පැනෙව්වේ, මේ සළායතන නිරෝධයට හිත තියෙන පැත්තෙන්.

එතකොට, ඒ කෙනා අකුසලයකට වැටෙන්නේ නැහැ. අකුසලයකට යන්න එයා රළු පුද්ගලයෙක් බවට පත්වෙන්නේ නැහැ. සෝතාපන්න භාවයට පත්වෙච්ච කෙනෙකු අතින් කවදාවත් අපායගාමී අකුසලයක් සිද්ධවෙන්නේ නැහැ. ඒ කෙනා අපායගාමී අකුසලයෙන් මිදිලා.

දැන් අද සෝවාන් ආයුෂ්මතුන්වහන්සේලාට තමයි, බිව්වත් ප්‍රශ්නයක් නැත්තේ. හැබැයි, මේ ශාසනයේ සෝවාන් ආයුෂ්මතුන්වහන්සේලාට එහෙම නැහැ.

අර සරකානි ගැන කියන කතාවේදී කියනවා, සරකානි සාක්‍යයා, බේබද්දෙක්, මේ සරකානි හොඳට බොනවා. දවසක්, වෙරි හිඳුනහම බන අහලා සෝවාන් වෙනවා. සෝවාන්වෙලා තමයි කළුරිය කරන්නේ. ලෝකයා දන්නේ නැහැ, සරකානි බන

ඇහුවා කියලාවත්, සෝවාන් උනා කියලාවත්. බුදුරජාණන් වහන්සේගෙන් ඇහුවාම, බුදුරජාණන් වහන්සේ කියනවා, සරකානි සාක්‍යයා සෝවාන් උනා, දිව්‍ය ලෝකයට ගියා කියලා.

එතකොට, මේ බිබී හිටපු සරකානිත් සෝවාන් උනා නම් කාටද බැරි සෝවාන් වෙන්න කියලා, එදා මිනිස්සුත් කෑගහන්න ගත්තා.

දැන් සරකානි බිබී ඉදලා, වෙරිමත හිඳුණු වෙලාවක බණ අහලා සෝවාන් උනා. සෝවාන්වෙලා බිවුවේ නැහැ. ඒක තමයි සූත්‍රයේ තියෙන කතාව.

හැබැයි, අද ඔය කතාවම අනිත් පැත්තට කියනවා, සරකානි සෝවාන්වෙලාත් බිවුවා කියලා. අද ඔක්කෝටම සෝවාන් ඵලය පහසුවෙන් ගන්න පුළුවන් වෙන්න එපාය. ඒ නිසා, සරකානි සෝවාන් වෙලාත් බිවුවා කියලා කියනවා.

සෝවාන්වුණු කෙනෙක් ඒ වගේ මට්ටමකට පත්වෙන්නේ නැහැ ඇයි? ඒ දරත සහිත, ක්ලේෂයෙන් මිදිලා.

දැන් හිතන්නකෝ, මේ අනිත්‍යය සහ අනාත්මය සාක්ෂාත් කරපු කෙනා, හොඳට දැක්කා නම් මේ අනිත්‍යතාවය සහ අනාත්මතාවය කියන ලක්ෂණ දෙක, එයාට ආපහු මේ පැත්තේ මේ රූපය පුද්ගලයා නෙවෙයි නම්, මේ රූපය පිනවාගන්න අකුසල් කරන්න තරම් රළු මට්ටමකට එයා යන්නේ නැහැ.

ඒ වගේම, මේ කයේ සිහි විකෘති කරගෙන සතුටුවෙනවා කියන මට්ටමකට එයාව යන්නේත් නැහැ. එයා නිකම්මයි අපායගාමී අකුසලයෙන් මිදුනා කියලා කියන්නේ. එයාට, පඤ්චසීලය ආයසීකාන්ත සීලය වෙලා. එයාට ඒක

පිහිටි සීලයක් වෙලා. ඒක එයා රකින්නේ නැහැ. බලෙන් රකින්නේ නැහැ. අපි නේ සමහර වෙලාවට, බොරු කියන්න එනවා, බොරු නොකියා ඉන්නවා සිල් කැඩෙනවා කියලා. ඒ කෙනා එහෙම නැහැ. ඒ කෙනා දිවි හිමියෙන්වත් බොරු කියන්නේ නැති මට්ටමට ස්වභාවසීල වෙලා. ස්වභාවයෙන්ම එයා සිල්වතෙක්. ඒ එයාගේ නුවණ නිසා.

එතකොට, මෙන්න මේ වගේ ලොකු ඥාන දර්ශනයක්, ලොකු නුවණක් තමයි, අපි ඔය කතාකරන්නේ. එතන තමයි අපි අවබෝධ කරගන්න ඕන තැන තියෙන්නේ.

අර කාලාම ගම් වැසියන්ට ඇතිවුනු ප්‍රශ්නය අද ගොඩාක් දෙනෙකුට ඇතිවෙලා තියෙනවා.

කාලාම ගම් වැසියන්, බුදුරජාණන්වහන්සේ ගියපු වෙලාවක අහනවා ප්‍රශ්නයක්, ස්වාමීනී, මේ එක් කෙනෙක් ආවාහම එකක් කියනවා. තවත් කෙනෙක් ආවාහම තවත් එකක් කියනවා. දැන් මේ එක එක්කෙනා ඇවිල්ලා එක එක කතා කියනවා. කවුරු කියන එකද හරි? අපි කොහොමද දැනගන්නේ? කාලාමවරු අහන ප්‍රශ්නය.

හැබැයි, කාලාමවරු අද හිටියා නම්, බුදුරජාණන්වහන්සේ කාලාම ගමට එනකන් ඉන්නේ නැහැ. ඔළුවේ අත ගහගෙන, බුදුරජාණන්වහන්සේව සොයාගෙන ගිහිල්ලා අහන්නේ.

එදා ඇහුවේ, එදා කිව්වේ, කෙනෙක් ක්‍රියා වාදයක් කියනවා, කෙනෙක් න්‍යාස්තික වාදයක් කියනවා. ඒ කියන්නේ, කෙනෙක් උච්ඡේදවාදයක් කියනවා, කෙනෙක් ශාස්වතවාදයක් කියනවා. එකිනෙකට වෙනස් දර්ශන.

අද බුදු දහමම කියලා, නිවන් දකින මගම කියලා, එක එක කෙනා, එක එක කතා කියනකොට, කොහොමද මේක දකින්නේ? අද හිටියා නම් කාලාමවරු, බුදුරජාණන්වහන්සේව සොයාගෙන යනවා, මේක අහගන්න.

අපි ධර්ම විනය ගැන තේරුම්ගන්නකොට, හොඳට ලොකු පැතිකඩක් තියෙනවා, තේරුම්ගන්න.

අපට පෙන්නුවා, ***'ඒකායනෝ අයං භික්ඛවේ මග්ගෝ, සත්තානං විසුද්ධියා'.*** මහණෙනි, මේ එකම මගයි, නිවනට තියෙන. මොකක්ද? සතර සතිපට්ඨානය. එතකොට, මේ සතර සතිපට්ඨානය තුළ මුළු නිවන් ප්‍රතිපදාවම අපට හම්බවෙලා තියෙන්න ඕන.

අද කෙනෙක් ඇතිකරන සමහර ප්‍රශ්නයක් තමයි, දැන් ආනාපාන සතිය වඩන්න කියලා කිව්වොත්, "හුලං දිහා බලාගෙන ඉඳලා පුළුවන්ද නිවන් දකින්න? හුලං දිහා බලාගෙන ඉඳලා නිවන් දකින්න බැහැ, හුලං දිහා බලාගෙන ඉන්න කිව්වේ බමුණෝ, ඒ හින්දා, ආනාපාන සතිය කියන්නේ ඕක නෙවෙයි, අස්ස පස්ස කියලා" වෙනමම දර්ශන පනවන්න හදනවා.

දැන් සූත්‍රය විමසලා බැලුවොත්, දීර්ඝව ආශ්වාස කරනවා, දීර්ඝව ප්‍රාශ්වාස කරනවා රස්සව ආශ්වාස කරනවා, රස්සව ප්‍රාශ්වාස කරනවා කියනකොට, "දීර්ඝව ආශ්වාදය අනුව බලනවා, දීර්ඝව ආශ්වාදය අනුව බලන්නේ නැතුව ඉන්නවා" කියලා, මේ විදියට පනවන්න පුළුවන්කමක් ඇත්තේ නැහැ.

හුලං දිහා බලාගෙන ඉඳලා නිවන් දකින්න කියලා බුදුරජාණන්වහන්සේ දේශනා කළේත් නැහැ. කවුද කිව්වේ

ආනාපාන සතිය වඩලා නිවන් දකින්න පුළුවන් කියලා? ඒකයි තියෙන ප්‍රශ්නය.

ඇත්තටම ආනාපාන සතිය වඩලා නිවන් දකින්න බැහැ. කෙස් ලොම් නිය දත් කියලා බලලා නිවන් දකින්න බැහැ. සතර මහා ධාතු කියලා බලලා නිවන් දකින්න බැහැ. ඒක තමයි ඇත්ත.

හැබැයි, ඒ සූත්‍රයේම පෙන්වනවා, එතන පෙන්වන්නේ, සති පට්ඨානය. එතන සිහිය පිහිටුවන්න ඕන තැන. එතන සිහිය පිහිටුවනකොට, නුවණක් ඇතිවෙනවා. මොකක්ද? ***"සමුදය ධම්මානුපස්සී වා, වය ධම්මානුපස්සී වා, සමුදය වය ධම්මානුපස්සී වා".***

කෙස්, ලොම්, නිය, දත්, සම්, මස්, නහර කියලා බලාගෙන යනකොට, ***'ඉති අජ්ඣත්තං වා කායේ කායානුපස්සී විහරති. බහිද්ධා වා කායේ කායානුපස්සී විහරති***', කියනකොට, එයා බලනවා දැන් ආධ්‍යාත්මික කයේ කෙස් කියලා දෙයක් තියෙනවා නම්, බාහිර කයේත් කෙස් කියලා දෙයක් තියෙනවා නම්, මේ කෙස්වල සත්ත්ව පුද්ගල බවක් ඇත්තේ නැහැ. ආධ්‍යාත්මික කයේත්, බාහිර කයේත්, සත්ත්ව පුද්ගලබවක් ඇත්තේ නැහැ.

***'අජ්ඣත්ත බහිද්ධා වා කායේ කායානුපස්සී විහරති'*** මේ දෙකේ වෙනසක් ඇත්තේ නැහැ. එතකොට, එයාට නුවණක් ඇතිවෙනවා, එහෙනම් කොහොමද මට පුද්ගලබවක් ඇතිවුනේ?

මේ අනාත්ම ධර්මතා ටිකක් ඇති තැනක, සත්ත්වයෙක් කියලා මම මේ පැත්තෙන් හදාගන්න, ඉතුරු නැතුව නිරුද්ධවෙන ධර්මතාවයක් ගැන, ***'සමුදය ධම්මානුපස්සී වා,***

***වය ධම්මානුපස්සී වා, සමුදය වය ධම්මානුපස්සී වා',*** එයාට උදය ව්‍යය දක්නා නුවණක් එනවා.

සතිපට්ඨාන සූත්‍රය හොඳට අරගෙන බලන්න, හැම භාවනාවක් අවසන් වෙනකොටම ඔය ටික කියන්නේ නැද්ද කියලා? මේ විදියට කයේ කය අනුව බලමින් වාසය කරනවා, නැත්නම්, වේදනාව අනුව බලමින් වාසයකරනවා, හිත අනුව බලමින් වාසයකරනවා, ධර්‍මය අනුව බලමින් වාසයකරනවා කියලා, *උදය ව්‍යය* දක්නා තැනට, ***'සමුදය ධම්මානුපස්සී වා, වය ධම්මානුපස්සී වා, සමුදය වය ධම්මානුපස්සී වා'*** කියන ටික පෙන්වන්නේ නැද්ද කියලා.

ඒක වෙනම භාවනාවක් නම්, ඒකත් තනි පදයක් හැටියට කියන්න තිබුනා නේ. නැහැ, මේ තැනක සිත පිහිටෙව්වාට පස්සේ, නුවණ නතරවෙන්නේ අර වගේ තැනකින්. ඕක නොදන්නාකම නිසාම, අද මිනිස්සුන්ට සමහර වේලාවට, මොකුත් නොදන්නා අයට ත්‍රිපිටකය පෙන්නලාම වැරදි අර්ථ කථන කියනවා. ඉතින් අපේ ඇත්තොත්, ත්‍රිපිටකය පෙන්නන නිසාම හිතනවා, මේක ඇත්ත කියලා.

උදාහරණයක් කිව්වොත්, කෙස් ලොම් නිය දත් සම් මස් නහර ඇට ඇට මිදුළු වකුගඩු හදවත් කියලා අපි දෙතිස් කුණුප කොට්ඨාසයක්, අසුභ භාවනාවක් කරනවා.

දැන් අසුභ භාවනාවක් කරනකොට, සංයුක්ත නිකාය දෙකේ තියෙනවා, ***"දුතිය අස්සුතවන්තු"*** කියලා සූත්‍රයක්, අස්සුතවන්තු සූත්‍රයේදී බුදුරජාණන්වහන්සේ දේශනාකරනවා, *'අශ්‍රැතවත් පෘතජ්ජනයා රූපයෙහි කලකිරෙයි, කලකිරුනේ නොඇලෙයි, නොඇලුනේ මිදෙනු කැමතිවෙයි'.* අශ්‍රැතවත් පෘතජ්ජනයා රූපයෙහි

කලකිරෙනවා. කලකිරිලා නොඇලිලා, මිදෙන්න කැමතිවෙනවා. මේ අශ්‍රැතවත් පෘතජ්ජනයාගේ ලක්‍ෂණය කියලා.

ඊටපස්සේ, දැන් ඔය සූත්‍රය දාලාම පෙන්වලා කියනවා, දැන් ඔයගොල්ලොත් මෙච්චර කල් කෙස් ලොම් නිය දත් සම් මස් නහර කිය කියා රූපයේ කලකිරෙන්න බැලුවා. දැන් කවුද මේ බැලුවේ? අශ්‍රැතවත් පෘතජ්ජනයා. දැන් කෙස් ලොම් දිහා බලාගෙන හිටියේ කවුද මේ? අශ්‍රැතවත් පෘතජ්ජනයා. ඔයගොල්ලෝ මෙච්චරකල් කළේ ඔය අශ්‍රැතවත් පෘතජ්ජනකම. එහෙනම්, කේසා කියන්නේ ඕක නෙවෙයි, ලෝමා කියන්නේ ඕක නෙවෙයි. ලොව අමාවක් සේ ගත් නිසා තමයි "ලෝමා" කියන්නේ. "දු අන්තා", අන්ත දෙක දුරුවෙන විදියට බලන නිසා "දන්තා".

දැන් අලුත් නිරුක්තියක්, අළුත් අර්ථ කථනයක්, ඉදිරිපත් කරනවා. ත්‍රිපිටකය පෙන්වලාමයි කිව්වේ, සූත්‍රය පෙන්නලා, සූත්‍රයේ තියෙනවා කියලාමයි පෙන්නුවේ. දැන් බලාගෙන ඉන්නා කෙනෙකුට, හරි.

නමුත්, ඔය සූත්‍රය විමසන කෙනෙකුට, අශ්‍රැතවත් පෘතජ්ජනයා රූපයේ කලකිරෙන එක වැරදියි කියලා බුදුරජාණන්වහන්සේ දේශනා කළා. ඉතින් අශ්‍රැතවත් පෘතජ්ජනයා කියලා කියන්නේ, බන දහම් දන්නේ නැති, අර මුලින් කතා කළා වගේ, සත්‍ය ඥානයක් නැති කෙනා රූපයේ කලකිරුනා කියලා එයාට මොකක්ද කරන්න පුළුවන්? එයාට කරන්න දෙයක් නැහැ නේ. එයාට පුළුවන් රූපයේ කලකිරිලා, උපරිම සිය දිවි නසාගන්න.

ඉතින් අශ්‍රැතවත් පෘතජ්ජනයා රූපයේ කලකිරෙන්න එපා කියලා, කලකිරෙන එක වැරදියි කියලා කිව්වා. ඒකෙන් කිව්වේ නැහැ ශ්‍රැතවත් ආර්‍යශ්‍රී ශ්‍රාවකයාට රූපයේ කලකිරෙන්න එපා කියලා.

දැන් අශ්‍රැතවත් පෘතජ්ජනයා රූපයේ කලකිරෙන එක වැරදියි කිව්වා මිසක, රූපයේ කලකිරෙන එක අශ්‍රැතවත් පෘථග්ජනකම කිව්වේ නැහැ. ඒක අනිත් පැත්තට කියන්න බැහැ.

මෙහෙම උදාහරණයක් කිව්වොත්, සියළු හංසයෝ සත්ත්වයෝය. ප්‍රශ්නයක් නැහැනේ. හැබැයි, ඕක අනිත් පැත්තට, සියළු සත්ත්වයෝ හංසයෝය කියලා කිව්වොත් හරිද? වැරදියි.

ඒ වගේ, අශ්‍රැතවත් පෘථග්ජනයා රූපයේ කලකිරෙන එක වැරදියි කිව්වා කියලා, රූපයේ කලකිරෙන එක අශ්‍රැතවත් පෘතජ්ජනකම කියලා ඕක අනිත් පැත්තට කියන්න බැහැ.

ඉක්මණට සූත්‍රය පෙන්වලා මිනිස්සුන්ට කියනවා රූපයේ කලකිරෙන එක, අශ්‍රැතවත් පෘතජ්ජනකම කියලා. එතකොට, සූත්‍රය දිහා බලාගෙන ඉන්න මිනිස්සුත් හිතනවා, ඇත්තනේ බුදුරජාණන් වහන්සේ දේශනා කරලා තියෙනවා නේ කියලා. එහෙනම් අපි මෙච්චර කල් මේ විදියට කරපු නිසා තමයි නිවන් දකින්න බැරිවුනේ කියලා වැරදි දෘෂ්ඨියක් ඇතිකර ගන්නවා. ඇයි? ත්‍රිපිටකය පෙන්වලාම නේ කියන්නේ.

ඉතින්, ඔන්න ඔය වගේ විවිධ මති මතාන්තර ඇතිවෙලා යනවා. ධර්මය ගැන හොඳ දැක්මක් අද දවසේදී තියෙන්න ඕන. හරි පරිස්සම්වෙන්න ඕන තැන් ගොඩාක් තියෙනවා.

විශේෂයෙන්ම අපි දැනගන්නට ඕන චතුරාර්‍යසී සත්‍යයට මේක ගැලපෙනවාද, ගැලපෙන්නේ කොහොමද? මේ ධර්ම විනය කියන එක පටිච්ච සමුප්පාදයට ගැලපෙන්නේ කොහොමද කියන එක.

ඉතින් ඒ ගැන පැහැදිලි කරන්න ගියොත් තව පැය දෙක තුනක්වත් පැහැදිලි කරන්න වෙනවා. දැන් කාලය ගොඩාක් ගෙවිලා තියෙන නිසා, අපි අද දවසේ දේශනාව නිමාකරමු.

අද දවසේදී, මේ විදියට ධර්ම ශ්‍රවනය කරගෙන, බොහොම වටිනා කුසලයක් කවුරුත් සිද්ධ කරගන්නට යෙදුනු මොහොත. මේ වේලාවේදී කවුරුත් කල්පනා කරගන්න, අපට ජීවිතයේ කොහෝම හරි දෙයක් අහගත්තා කියන එක කියන්න නෙවෙයි ඇත්තටම අවශ්‍ය වෙන්නේ. ජීවිතයට යමක් අවබෝධ කරගන්න එක.

ඉතින් මම බලාපොරොත්තු වුනේ නැහැ, වෙන්නේත් නැහැ, සීයට සීයක් මේ ඔක්කෝම සියළු කාරණා ටික තේරුම්ගත්තා කියන දේ. මම දන්නවා, මේකේ ලොකු කොටසක් නොතේරුනා, සමහර කොටස් තේරුම්ගන්න ඇති කියන එක. සමහර කොටස් තේරුනේ නැහැ. නමුත් මේ කාරණා ටික පැහැදිලි කළේ, අපි මේ ටික ජීවිතයේ කොහොම හරි තේරුම්ගන්න ඇත්තටම අත්‍යාවශ්‍යමවෙන ධර්මතා ටිකක් නිසා.

ඒ නිසා, මේක ගැඹුරුයි කියලා අතහැරලා දාලා නිකන් ඉන්න පුළුවන් ටිකක් එහෙම නෙවෙයි. අපිත් මේ දහම තේරිලා ඉපදුනා එහෙම නෙවෙයි. මම ගොඩාක් වෙලාවට කියන්නේ, නිදි කිර කිරා හරි බන අහලා, මේක වඩලා තමයි ටිකක් හරි

මේක තේරුම් ගත්තේ. ඒ නිසා, කාටවත් බැරිකමක් ඇත්තේ නැහැ.

අර එක අම්මා කෙනෙක් කියනවා, ලොකු ස්වාමීන්වහන්සේගේ දේශනා යනකොට ඒ දවස්වල TV එක off කරනවාලු. ඇයි මොනවත් තේරුනේ නැතිලු. මොනවා කියනවාද දන්නේ නැහැ කියලා. එක දවසක් TV එක off කරන්න බැරුව ටිකක් වෙලා ඇහුනාලු. ටිකක් තේරුනා, මොකක් හරි තියෙනවා කියලා හිතුනාලු. එදා ඉඳන් තමයි බන අහන්න ගත්තේ කියලා.

ඒ වගේ, මේක තේරෙනවා කියන එක, එකපාර තේරුම්ගන්නවා කියන එකක් බලාපොරොත්තු වෙන්නේ නැහැ. නමුත් ටිකක් ගවේශනය කරන්න. ටිකක් පර්යේෂණය කරන්න. මේක තේරුම්ගන්න බැරි කමක් ඇත්තේත් නැහැ. අපට දහම ගැඹුරුයි වගේ තේරුනාට, ඇත්තටම අපි ඉන්නේ ආශ්‍රව කන්දක් උඩ. ඒ හින්දා, ඔය ආශ්‍රව ටිකක් අඩුවෙලා යනකොට, මේ දහම අපට තව ටිකක් ඉක්මණට තේරුම්ගන්න පුළුවන්කම තියෙනවා.

ඔයගොල්ලොන්ට පුළුවන් නම් මේ දේශනාව නැවත නැවතත් අහන්න, දෙපාරක්වත් අහලා බලන්න අද තේරුම්ගත්තාට වැඩි ප්‍රමාණයක් ඊළඟ දවසේ තේරුම්ගන්න පුළුවන්කම තියෙනවා, අළුතෙන්ම තේරුනා වගේ. ඒක ප්‍රායෝගික ඇත්තක්. ඒ නිසා, මේක අතහැරගන්න එපා, උත්සාහය නැතිකරගන්න එපා. නොතේරුනා නම්, ඒ නිසා තමයි, තේරුම්ගන්න උත්සාහවත් විය යුත්තේ.

අද දවසේ සද්ධර්මශ්‍රවණය කරලා, යෝනිසෝ මනසිකාරය ආදිය පවත්වලා, බොහෝම වටිනා කුසලයක්

සිද්ධකරගත්ත මේ මොහොතේදී, අපි මේ කුසල් අනුමෝදන් කළයුතු අයට අනුමෝදන් කරමු.

පළමුවෙන්ම, අපි හැම දෙනාටම අර්ථයෙන් ධර්මයෙන් අනුශාසනා කළ අපේ ධර්මාචාර්ය, අවසරයි, මාන්කඩවල සුදස්සන ස්වාමීන්වහන්සේට, මාන්කඩවල නන්දරතන ස්වාමීන්වහන්සේට, ස්වාමීන්වහන්සේලා දෙනමටම අමා මහ නිවනින් සැනසෙන්නටම මේ කුසලය හේතු පාරමිතවක්ම වේවා කියන ප්‍රාර්ථනාව සිද්ධකරනවා.

ඒ වගේම, මේ ස්ථාන අධිගෘහිත සියළු දේවගන සමූහයාට, ඉෂ්ඨකාරක සියළු දේවගන සමූහයාට, අපි මේ පින් අනුමොදන් කරමු. ඒ දෙවියන්ටත් අමා මහ නිවනින් සැනසෙන්නටම මේ සියළු කුසලය හේතු පාරමිතාවක්ම වෙත්වා කියලා සාධු කියන්න කවුරුත්.

ඒ වගේම, අද දවසේ දී මෙම ධර්ම දේශනාවේ දායකත්වය දැරූ සියලු දෙනාට සහ ඒ සැමදෙනා නමින් පරලෝ සැපත් ඥාති මිත්‍රාදීන්ට ද පුණ්‍යානුමෝදනා කරන්නට බලාපොරොත්තු වෙනවා.

මේ කුසල කර්මය සිද්ධ කරගන්නට, මේ පින්වතුන්ට කාලය ඉඩ අවස්ථාව සලසලා දීලා, මේ සියළු කටයුතු සංවිධානය කරන්නට, ඒ නිරන්තර ආශීර්වාදය ලබාදුන්, අනුශාසකත්වය ලබාදුන්, ගෞරවණීය ලොකු හාමුදුරුවන් වහන්සේට, විහාරාධිපති, පඤ්ඤාසේකර ලොකු හාමුදුරුවන් වහන්සේ ඇතුළු විහාරස්ථානයේ වැඩ සිටිනා සියළු ස්වාමීන් වහන්සේලාට අපි මේ වේලාවේදී රත්නත්‍රයේ අනන්ත ගුණානුභාව බලයෙන්, අපි සිද්ධකළ, යෝනිසෝ මනසිකාර ආදී සියළු කුසල ශක්තියේ බලයෙන්, සාසනික ගමන යහපත්

කරගෙන මේ ජීවිතයේම අමා මහ නිවනින් සැනසෙන්නටම මේ කුසලය හේතු පාරමිතාවක්ම වෙත්වා කියලා සාධු කියලා ප්‍රාර්ථනාකරන්න.

ඒ වගේම, මේ විහාර භූමිය පූජා කළ චන්දන පුෂ්පකුමාර පුතනුවන්ට සහ රට වෙනුවෙන් දිවි පිදූ රණවිරුවන්ටත්, මේ රණවිරු මාසය වෙනුවෙන් අපි පුණ්‍යානුමෝදනා කරනවා. ඒ ඇත්තන් කළ කැප කිරීම නිසා, අද අපට මේ විදියට ප්‍රතිපත්ති පුරන්නට සුදුසු පරිසරයක් සකස්වුනා. ඒ සියළු දෙනාටත්, මේ සියළු කුසලය එකසේ හේතු පාරමිතාවක්ම වෙත්වා කියලා සාධු කියලා පුණ්‍යානුමෝදනා කරන්න.

මේ හැම දෙනාටමත්, ඝෝරකටුක භයංකර, දුක් සහිත සසරින් එතෙරව ලබන අමත මහා නිර්වාන සුවය සාක්‍ෂාත් කරගැනීම පිණිස මේ කුසලය හේතු පාරමිතාවක්ම වෙත්වා කියලා සාධු කියලා ප්‍රාර්ථනා කරගන්න.

අභිවාදන සීලිස්ස
නිච්චං වුද්ධා පචායිනො
චත්තාරො ධම්මා වඩ්ඪන්තී
ආයු වණ්ණො සුඛං බලං
ආයුරාරෝග්‍ය සම්පත්තී
සග්ග සම්පත්ති මේවච
අථො නිබ්බාන සම්පත්තී
ඉමිනාතේ සමිජ්ඣතූ

සාධු! සාධු!! සාධු!!!